# ඉස්ලාම්

## 4 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අතිසෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

**අපි වෙමු එක මවකගෙ දරුවෝ**
**එක නිවසෙහි වෙසෙනා**
**එක පාටැති එක රුධිරය වේ**
**අප කය තුළ දුවනා**

**එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ**
**එක ලෙස එහි වැඩෙනා**
**ජීවත් වන අප මෙම නිවසේ**
**සොඳින සිටිය යුතු වේ**

**සැමට ම මෙත් කරුණා ගුණෙනී**
**වෙළී සමගි දමිනී**
**රන් මිණි මුතු නො ව එය ම ය සැපතා**
**කිසි කල නොම දිරනා**

**ආනන්ද සමරකෝන්**

ஒரு தாய் மக்கள் நாமாவோம்
ஒன்றே நாம் வாழும் இல்லம்
நன்றே உடலில் ஓடும்
ஒன்றே நம் குருதி நிறம்

அதனால் சகோதரர் நாமாவோம்
ஒன்றாய் வாழும் வளரும் நாம்
நன்றாய் இவ் இல்லினிலே
நலமே வாழ்தல் வேண்டுமன்றோ

யாவரும் அன்பு கருணையுடன்
ஒற்றுமை சிறக்க வாழ்ந்திடுதல்
பொன்னும் மணியும் முத்துமல்ல - அதுவே
யான்று மழியாச் செல்வமன்றோ.

ஆனந்த சமரக்கோன்
கவிதையின் பெயர்ப்பு.



"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරැදි දැනුමෙන්
රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"

<u>ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය</u>

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් ඔබට හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.



**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ඔබ ජන්මලාභය ලබා ඇත්තේ ඉන්දීය සාගරයේ මුතු ඇටය යැයි විරුදාවලී ලත් රටකය. ඔබේ රට අන් රටවල් හා සැසඳූ කල කුඩා රටක් ලෙස පෙනුණද එහි අගය අමිල ය. එවන් අගනා පුණ්‍යභූමියක උපන් ඔබ සැම සැබවින්ම වාසනාවන්ත පිරිසකි. සිසු දරුදැරියන් වන ඔබ සැම, හොඳින් අධ්‍යාපනය ලබා ගුණ නැණ බෙලෙන් යුතු පුරවැසියන් ලෙස අනාගත ලෝකය එළිය කරනු දැකීම අපගේ ඒකායන අපේක්ෂාවයි. එම අපේක්ෂාව මුදුන්පත් කරලනු පිණිස අධ්‍යාපනය සඳහා අවශ්‍ය සියලු පහසුකම් නොමිලේ සැපයීමට රජය කටයුතු කරයි. මෙම පොත ඔබට තිළිණ කෙරෙන්නේ ද  එහි එක් පියවරක් වශයෙනි.

නව ප්‍රාථමික විෂය මාලාවට අනුව මේ වන විට 1, 2, 3 සහ 4 ශ්‍රේණි සඳහා නව පෙළපොත් හඳුන්වා දී ඇත. 2020 වර්ෂයේ දී 5 වැනි ශ්‍රේණියට නව පෙළ පොත් හඳුන්වා දීමෙන් අනතුරුව මෙම අදියරේ ප්‍රාථමික විෂයමාලා සංශෝධනය නිමාවට පත්වේ. 1 ශ්‍රේණියේ සිට 5 ශ්‍රේණිය දක්වා ප්‍රාථමික ශ්‍රේණිවල සිප් සතර හදාරන ශිෂ්‍ය ප්‍රජාව වෙනුවෙන් රජය තිළිණ කරන පෙළපොත් සංඛ්‍යාව 30 ක් පමණ වේ. මේ වටිනා සම්පතින් ජීවිතය ආලෝකවත් කර ගැනීමට කටයුතු කිරීම ඔබ සැමගේ වගකීම විය යුතුය.

මෙම පෙළපොත ඔබ අතට පත් කිරීම සඳහා කැපවීමෙන් කටයුතු කළ ලේඛක හා සංස්කාරක මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ට සහ අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයට මාගේ ස්තුතිය පුද කරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2019.04.10

### නියාමනය හා අධීක්ෂණය

ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක

**අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

### මෙහෙයවීම

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි

**අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස්** (සංවර්ධන),
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

### සම්බන්ධීකරණය

අෂ්ෂෙයික් එම්. ටී. අබ්දුර් රහ්මාන්
(ශ්‍රී. ලං. අ. ප. සේ)

**සහකාර කොමසාරිස්,**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

### ලේඛක මණ්ඩලය

අෂ්ෂෙයික් එම්. එච්. එම්. බුහාරි

**ගුරු උපදේශක,**
කලාප අධ්‍යාපන කාර්යාලය, මිනුවන්ගොඩ.

අෂ්ෂෙයික් එම්. එම්. ෆස්ලුර් රහ්මාන්

**උපගුරු,**
අලිගාර් ම. වි., කල් එළිය.

එම්. එච්. එම්. නාලිර්

**සම්පත් පුද්ගල,** (විශ්‍රාමලත්)
ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම.

මෞලවියා එම්. එන්. එෆ්. නිසායා

**උපගුරු,**
බාබුස් සලාම් ම. වි. පස්යාල.

එම්. එෆ්. එම්. නල්රි

**විදුහල්පති,**
අල් හම්රා මහා විද්‍යාලය,
දර්ගා නගරය.

මෞලවියා එම්. අයි. එස්. සුහාරා

**උපගුරු,**
කයිරියා මුස්ලිම් කාන්තා විදුහල,
කොළඹ 09.

**සංස්කාරක මණ්ඩලය**

| | |
|---|---|
| අෂ්ෂෙයික් ඒ. සී. අගාර් මුහම්මද් | **නියෝජ්‍ය අධ්‍යක්ෂ,** ජාමියා නලීමියා<br>**නියෝජ්‍ය සභාපති,**<br>සමස්ත ලංකා ජම්මියතුල් උලමා. |
| ඉසෙඩ්. තාජුදීන් (ශ්‍රී. ලං. අ. ප. සේ) | **අධ්‍යාපන අධ්‍යක්ෂ,** අධ්‍යාපන අමාත්‍යාංශය. |
| අෂ්ෂෙයික් එම්. ආර්. එම්. ඉර්ෂාන් (ශ්‍රී. ලං. අ. ප. සේ) | **නියෝජ්‍ය අධ්‍යාපන අධ්‍යක්ෂ,**<br>අධ්‍යාපන අමාත්‍යාංශය, |
| අෂ්ෂෙයික් එම්. එස්. අබ්දුල් බාරි | **ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,**<br>පේරාදෙණිය විශ්වවිද්‍යාලය. |
| අෂ්ෂෙයික් ජේ. එම්. ජසාර් | **කථිකාචාර්ය,** ජා.අ.ආයතනය, මහරගම. |
| අෂ්ෂෙයික් එම්. ටී. අබ්දුර් රහ්මාන් (ශ්‍රී. ලං. අ. ප. සේ) | **සහකාර කොමසාරිස්,**<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |

**භාෂා සංස්කාරක**

| | |
|---|---|
| අයි. ඒ. එම්. අෆ්සාන් (ශ්‍රී. ලං. අ. ප. සේ) | **විදුහල්පති,**<br>අල් මින්හාජ් ජාතික පාසල, හපුගස්තලාව. |

**සෝදුපත් කියවීම**

| | |
|---|---|
| එම්. ඒ. එම්. දමයන්ති | **සංවර්ධන සහකාර,**<br>ළඟ ම පාසල, හොඳ ම පාසල ව්‍යාපෘති ශාඛාව,<br>අධ්‍යාපන අමාත්‍යාංශය. |

**අවසන් ඇගයුම**

| | |
|---|---|
| ඒ. ආර්. එම්. සියාද් | **උපගුරු,**<br>මින්හාජ් මුස්ලිම් විද්‍යාලය, හොරොම්බාව. |
| අල් හාෆිල් මුහම්මදු නිස්ෆර් නිලාර් | **විෂයභාර ගුරු (සිංහල),**<br>කුල්ලියතුර් රෂාද් අරාබි විදුහල, කොළඹ 14. |
| මෞලවියා එම්. එෆ්. එෆ්. ෆාරිහා | **ගුරු උපදේශක,**<br>කලාප අධ්‍යාපන කාර්යාලය, කළුතර. |

**පරිගණක පිටු සැකසුම**

| | |
|---|---|
| එච්. එෆ්. රිස්නා | **පරිගණක සහායක,**<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |

**පිටකවර නිර්මාණය**

| | |
|---|---|
| එම්. ඩබ්ලිව්. ඒ. අසාර් | **පරිගණක සහායක,**<br>6 F, රක්ෂපාන, මල්වාන. |

**චිත්‍ර**

| | |
|---|---|
| එම්. මහේෂිකා | **කන්දේවත්ත, මල්වාන.** |

# පටුන


1. අල්ලාහ් 1
2. අල්ලාහු හාදීනා 4
3. කලිමතුත් තව්හීද් 7
4. ආගම් හා සුහුෆ් 9
5. රසූල්වරු 12
6. අවසන් දූත නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා 14
7. අවසන් ආගම අල් කුර්ආන් 17
8. අල් කුර්ආනයේ මහිම 19
9. වුලූඃ 21
10. සලාතයේ වැදගත්කම 25
11. සලාතය ඉටු කරමු 30
12. සූරතුල් ෆලක් 39
13. සූරතුන් නාස් 41
14. පිරිසිදුකම රැකගනිමු 43
15. අපේ ගෙදර 46
16. පරිසරය සුරකිමු 48
17. නජීස් ඉවත් කරමු 51
18. නායකත්වයට අවනත වෙමු 53
19. ආගන්තුක සත්කාර කරමු 57
20. රෝගීන් බැහැ දකිමු 60
21. අසල්වැසියෝ 62
22. අනුන්ට උපකාර කරමු 64
23. මගීන් 67
24. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ යහ ගුණාංග 70
25. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ ඉවසීම 72
26. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ ලැජ්ජාශීලී භාවය 77
27. ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි 81

# 1 අල්ලාහ්

අහස බලන්න. එහි ඔබ ඉර හා හඳ දකිනවා නොවේ ද?

මේවා මැව්වේ කවරෙක් ද?

රාත්‍රියේ අපි නින්දට ගොස් විවේක ගන්නෙමු. දහවල් කාලයේ අපි ඉගෙන ගන්නෙමු, තව ද ක්‍රීඩා කරන්නෙමු.

රාත්‍රිය හා දහවල් කාලය ඇති කළේ කවරෙක් ද?

සුළඟ හා වර්ෂාව ලබා දෙන්නේ කවරෙක් ද?

ගස් වැල් වඩවන්නේ කවරෙක් ද?

අප මවා සුරකින්නේ කවරෙක් ද?

අපට ලස්සන පෙනුමක් ලබා දුන්නේ කවරෙක් ද?

අපගේ අවශ්‍යතා ඉටු කර දෙන්නේ කවරෙක් ද?

මෙවැනි ප්‍රශ්න සියල්ලට ම එක ම පිළිතුර **අල්ලාහ්** වේ.



මෙලොවෙහි ඇති සියල්ල මවා පාලනය කරන්නා අල්ලාහ් ය. අප ඔහු අමතනුයේ رَبُّ الْعٰلَمِيْنَ (රබ්බුල් ආලමීන්) යනුවෙනි.

අල්ලාහ් කරුණාවන්ත ය, දයාබර ය. ඔහු මෙන් කිසිවෙක් කරුණාව දක්වන්නේ නැත; දයාව දක්වන්නේ ද නැත.

අල්ලාහ් සියල්ල දන්නේ ය. ඔහු නොදැන කිසිවක් සිදු වන්නේ ද නැත.

ගසින් හැලෙන කොළ සහ ඒවායෙහි සංඛ්‍යාව ද ඔහු දන්නේ ය.

අපගේ ක්‍රියා හා සිතුම් පැතුම් සියල්ල ඔහු දැන සිටින්නේ ය.

අල්ලාහ් සියලු හැකියාවන්ගෙන් හා ශක්තීන්ගෙන් පරිපූර්ණ ය. අහස, පොළොව හා එහි ඇති සියල්ල මැව්වේ ඔහු ම ය. ඔහු යමක් මැවීමට අදහස් කළ විට "සිදු වනු" යැයි පවසයි. එවිට එය එලෙස ම සිදු වේ.

අල්ලාහ් කිසිදු දෙයකට සම නොවෙයි. ඔහුට මවක හෝ පියකු නොමැත; බිරිඳ හා දරුවන් ද නොමැත. ඔහුට අවශ්‍යතා කිසිවක් නැත. එනමුත් සියලු මැවීම්වලට ඔහුගේ අවශ්‍යතාව පවතී. අපගේ වුවමනා සපුරා ගැනීමට වඩාත් සුදුස්සා ඔහු ය.

අල්ලාහ් අප අලංකාර හැඩයකින් මවා ඇත්තේ ය; අපට අවශ්‍ය වාතය, ආහාර, ජලය යනාදි සියල්ල ලබා දෙන්නේ ය. එබැවින් අප ඔහුට කෙළෙහිගුණ දැක්විය යුතු ය.

ඉර, හඳ, අහස, පොළොව, ගස් වැල්, සතුන්, හා පක්ෂීන් ආදී සියල්ල අල්ලාහ් තස්බීහ් කරයි. ( سُبْحَانَ اللّٰهِ සුබ්හානල්ලාහ්)

ඔහුට ප්‍රශංසා කරයි, පරිශුද්ධ කරයි. (اَلْحَمْدُ لِلّٰهِ අල් හම්දු ලිල්ලාහ්)

ඔහුගේ නියමය පරිදි ක්‍රියාත්මක වේ.

එනිසා මිනිසුන් වන අපි ද

- අල්ලාහ්ව පරිශුද්ධ කරමු.
- ඔහුට ප්‍රශංසා කරමු.
- ඔහුට අවනත වී කටයුතු කරමු.
- ඔහු පමණක් නමදිමු.

## අභ්‍යාස

### කෙටි පිළිතුරු සපයන්න.

1. අප මවා ආරක්ෂා කරන්නේ කවරෙක් ද?

2. අල්ලාහු තආලාගේ ගුණාංග දෙකක් ලියන්න.

3. අල්ලාහු තආලා තස්බීහ් කරන දෑ මොනවා ද?

# 2 අල්ලාහු හාදීනා
## (අල්ලාහ් අපට සෘජු මග පෙන්වන්නේ ය)

අල්ලාහ් අප මවා
දායාද, සෙනෙහස පුදා
මග දැන යාමට
අපට පෙනීම දුන් දෙවිඳුනේ

වැටුණේ නම් අප ඝන අඳුරේ
ඵලය කිම ද අප දෙනෙතේ
හැඳින ගැනීමට මග දිවා කල
හිරු එළිය දී අපට

සැඟවුණු කල හිරු අපට කිම
පැතිරුණු කල ඝන අඳුර අපට කිම
මග පෙන්වීමට රාත්‍රි කල
පහන සේ හඳ එළිය අපට

සයුරේ මග සොයා යන යාත්‍රා
ගුවනේ පියාසර කරන යානා
මග දැන ගමන් කිරීමට
දිශාව පෙන්වා සැම අත







අඳුරෙහි සිටියෙමි මව් කුසෙහි
බිලිඳකු සේ උපන්නා මම නොදනිමි
දෑස් විවර කර බැලීමි මම
සිටියෙමි අසලින් ලබමින්නේ
මවගේ සෙනෙහේ හොඳින්

මිනිසා යන නම රකිමින්
ජීවත් වීමි මම ජය ගැනීමට සොඳින්
නුවණ ලබා දුනි තෝරා ගැන්මට යහමග
ෂයිතාන්ගේ විපතින් අප රැක දෙන්නේ

දහම රැකගෙන ආ නබිතුමා
යහමග අප සැම යොමු කරවා
සිරාතල් මුස්තකීම් වූ ඒ මාවත
ස්වර්ග මාවත ද එය ම ය වන්නේ

අප කරන හොඳ නරක හැම දෙය ම ඔබ දකියි
අප පතන වුවමනා සහ දුආ අසනු මැන
ඔබට අප පෙනේ ම ය ඇසේ ම ය නිබඳව ම
දයාවෙන් සවන් දෙනු මැනැවි අල්ලාහ් දෙවිඳ

අල්ලාහ් අප හට හාදීනා - අල්ලාහ් අපට ඍජු මග පෙන්වන්නේ ය

## අභ්‍යාස

පහත සඳහන් වැකි හරි නම් (✓) ලකුණ ද, වැරදි නම් (✗) ලකුණ ද යොදන්න.

1. මුහුදේ නැව් ගමන් කිරීමටත්, අහසේ අහස් යානා ගමන් කිරීමටත් අල්ලාහ් දිශා 8ක් නිර්මාණය කළේ ය. ( )
2. අල්ලාහ් මිනිසාට වැරදි මග පෙන්වන්නේ ය. ( )
3. රාත්‍රියේ සඳ මගින් අල්ලාහ් අපට මග පෙන්වයි. ( )
4. අල්ලාහ් පරිශුද්ධ ය. ( )
5. ෂයිතාන්ගේ උපායන් ජය ගන්නට අල්ලාහ් අපට විචාර බුද්ධිය ලබා දුන්නේ ය. ( )
6. සිරාතල් මුස්තකීම් යනු යහ මාර්ගය නොවේ. ( )

# 3 කලිමතුත් තව්හීද්

لَا اِلٰهَ اِلَّا اللهُ وَحْدَهُ لَا شَرِيْكَ لَهُ

لَهُ الْمُلْكُ وَلَهُ الْحَمْدُ يُحْيِيْ وَيُمِيْتُ

بِيَدِهِ الْخَيْرُ وَهُوَ عَلٰى كُلِّ شَيْءٍ قَدِيْرٌ

ලා ඉලාහ ඉල්ලල්ලාහු වහ්දහූ ලා ෂරීක ලහූ

ලහුල් මුල්කු වලහුල් හම්දු යුහ්යී වයුමීතු

බියදිහිල් හයිරු වහුව අලා කුල්ලි ෂයිඉන් කදීර්

අර්ථය -

නැමදිය යුත්තා අල්ලාහ් හැර අන් කිසිවෙක් නොවේ. ඔහු ඒකයා ය. ඔහුට සමාන කිසිවකු නැත. සියලු පාලනය ඔහු සතු ය. සියලු ප්‍රශංසා ඔහුට ම හිමි වේ. (මැවීම් සියල්ලට ම) ප්‍රාණය ලබා දෙන්නේ ඔහු ය. (මැවීම් සියල්ල) මරණයට පත් කරන්නේ ද ඔහු ම ය. සියලු යහපත ඔහු සතු ව පවතී. තව ද ඔහු සියලු දෑ කෙරෙහි බල සම්පන්න ය.

මෙම කලිමාව තුළින් අල්ලාහ්ගේ වැදගත් ගුණාංග සමහරක් පෙන්වා ඇත. ඒවා අප දැන හැඳින සිටීම අවශ්‍ය වේ.

කලිමතුත් තව්හීද් ඒකත්වය හා සත්‍යතාව අවධාරණය කරන්නේ ය; අපගේ ඊමානය ශක්තිමත් කරන්නේ ය. ෂිර්කය වෙතින් (එනම් අල්ලාහ් වෙනත් දෙයක් සමඟ සම කිරීමෙන්) අප වළක්වන්නේ ය.

එනිසා කලිමතුත් තව්හීද් අපට කියා දෙන අර්ථය අවබෝධ කර ගනිමු. උදේ සවස ෆර්ල් සලාතයෙන් පසු ව සුපුරුදු ලෙස එය පාරායනය කරමු.

## අභ්‍යාස

### සුදුසු පද යොදා හිස්තැන් පුරවන්න.

(යහකර්ම, බලසම්පන්න ය, ඒකත්වය, අල්ලාහ්, පණ දෙන්නා)

1. කලිමතුත් තව්හීද් ..................... අවධාරණය කරන්නේ ය.
2. ..................... ට සමාන කිසිවෙක් නොමැත.
3. මරණයට පත්කරන්නා හා ..................... අල්ලාහ් ම ය.
4. අල්ලාහ් සියලු ..................... තමන් සතුව තබා ඇත්තේ ය.
5. අල්ලාහ් සියලු දෑ කෙරෙහි .......................

## ක්‍රියාකාරකම්

කලිමතුත් තව්හීද් හා එහි අර්ථය කටපාඩම් කර ගුරුවරයාට කියන්න.

# 4 ආගම් හා සුහුෆ්

අල්ලාහු තආලා මිනිසුන් වන අප මැව්වේ ය; ජනයාට යහමග පෙන්වී ය. ඔහුගේ මග පෙන්වීම්වලින් සමහරක් "සුහුෆ්" යනුවෙන් අමතනු ලබන අතර, තවත් සමහරක් "ආගම්" යනුවෙන් ද අමතනු ලැබේ.

## සුහුෆ්

"සුහුෆ්" යනු ආගමික අණ පනත් වේ. එහි අල්ලාහ්ගේ මග පෙන්වීම් හා උපදෙස් අන්තර්ගත වේ. ඒවා නබිවරුන් හා රසූල්වරුන් මාර්ගයෙන් ජනතාවට දේශනා කරන ලදි.

ඒවා පහත සඳහන් අයුරින් ප්‍රදානය කෙරිණි.

| | |
|---|---|
| 1. ආදම් අලෛහිස්සලාම් | සුහුෆ් 10 |
| 2. ෂීද් අලෛහිස්සලාම් | සුහුෆ් 50 |
| 3. ඉද්රීස් අලෛහිස්සලාම් | සුහුෆ් 30 |
| 4. ඉබ්‍රාහීම් අලෛහිස්සලාම් | සුහුෆ් 10 |
| 5. මූසා අලෛහිස්සලාම් | සුහුෆ් 10 |
| **මුළු සංඛ්‍යාව** | **සුහුෆ් 110** |

## ආගම්

අල්ලාහු තආලා රසූල්වරුන්ට ආගම් ප්‍රදානය කළේ ය. ඔහුගේ මගපෙන්වීම්, දේශනා හා නීතිරීති යනාදිය එවායෙහි ඇතුළත් වේ.

ඒවා ඒ ඒ රසූල්වරුන්ට විවිධ කාල වකවානුවල දී ප්‍රදානය කෙරිණි.

1. තව්රාත් ආගම මූසා අලෛහිස්සලාම් තුමාට අබරානි භාෂාවෙන් පහළ කරන ලදි.

2. සබූර් ආගම දාවූද් අලෛහිස්සලාම් තුමාට යූනානි භාෂාවෙන් පහළ කරන ලදි.

3. ඉන්ජීල් ආගම ඊසා අලෛහිස්සලාම් තුමාට සුර්යානි භාෂාවෙන් පහළ කරන ලදි.

4. ෆුර්කාන් ආගම මුහම්මද් සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණන්ට අරාබි භාෂාවෙන් පහළ කරන ලදි.

මෙය පහත සඳහන් අයුරින් ගීතයක් ලෙසින් ගායනා කළ හැකි ය.

| | | |
|---|---|---|
| තව්රාත් | මූසා | අබරානි |
| සබූර් | දාවූද් | යූනානි |
| ඉන්ජීල් | ඊසා | සුර්යානි |
| ෆුර්කාන් | මුහම්මද් | අරබානි |

ආගම් හා සුහුෆ් මගින් අල්ලාහ් මිනිසුන්ට යහමඟ පෙන්වූ බව පිළිගෙන විශ්වාස කරමු. අවසන් ආගම වන ෆුර්කානය (අල් කුර්ආනය) පිළිපදිමින් ජීවත් වෙමු.

## අභ්‍යාස

### (අ) කෙටි පිළිතුරු සපයන්න.

1. වැඩි ම සංඛ්‍යාවක් සුහුෆ් ලැබූ නබිවරයාගේ නම කුමක් ද?
2. ආගමක් හා සුහුෆ් යන දෙක ම ලැබූ නබිවරයා කවරෙක් ද?
3. ඊසා අලෛහිස්සලාම් තුමාට ප්‍රදානය කළ ආගම කුමක් ද?
4. අවසාන වශයෙන් ප්‍රදානය කළ ආගම කුමක් ද?
5. ප්‍රදානය කරන ලද මුළු සුහුෆ් ගණන කොපමණ ද?

### (ආ) හිස්තැන් පුරවන්න.

| | | |
|---|---|---|
| .................. | මූසා | අබරානි |
| සබූර් | දාවූද් | .................. |
| ඉන්ජීල් | .................. | සුර්යානි |
| .................. | මුහම්මද් | .................. |

# 5 රසූල්වරු

අල්ලාහු තආලා නබිවරුන්ට හා රසූල්වරුන්ට ආගම් හා සුහුෆ් ප්‍රදානය කළේ ය. මොවුහු ජනයාට යහමඟ පෙන්වූහ. හොඳ දේ අණ කළහ; නරක දෙයින් ඔවුන්ව වැළැක්වූහ; ආදර්ශවත් ලෙස ජීවත් වූහ. එබැවින් ජනයා ඔවුන් අනුගමනය කළෝ ය.

නබිවරුන් හා රසූල්වරුන් ද මිනිසුන් ය. ඔවුහු රැකියාවන්හි නිරත වූහ; පවුල් ජීවිත ගත කළහ. ඔවුහු මිනිසුන් අතර ඉතා ශ්‍රේෂ්ඨයෝ වෙති. අල්ලාහ් ඔවුන් තෝරා ගෙන වහී මගින් මඟපෙන්වීම් ලබා දුන්නේ ය.  තව ද ඔවුන්ට ප්‍රාතිහාර්යයන් ද ලබා දුන්නේ ය. ඒවා **"මුඃජිසාත්"** නම් වේ.

ඔවුහු තමන්ට ලැබුණු මඟපෙන්වීම් ජනයාට ඉදිරිපත් කළෝ ය; ඒ අනුව ම ජීවත් වූහ; ජනයා ඔවුන් පිළිගෙන අනුගමනය කළහ. සමහරු ඔවුන්ගේ දේශනාවන්ට පිටුපා, ඔවුන්ට එරෙහි ව ක්‍රියා කළෝ ය; ඔවුන්ට හිංසා ද කළහ.

එවන් අවස්ථාවල දී ඔවුහු ඉවසීමෙන් සිටියහ. තව ද ඔවුහු එම ජනයා වෙනුවෙන් අල්ලාහ්ගෙන් ප්‍රාර්ථනා ද කළෝ ය.



ඔවුන් තුළ උසස් දැනුම, තීක්ෂණ බුද්ධිය, ඥානය, විනය, ආදර්ශවත් බව යනාදිය දක්නට ලැබිණි.

නබිවරුන් හා රසූල්වරුන් විශ්වාස කරමු. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පිළිගෙන එතුමන් අනුගමනය කරමු.

අභ්‍යාස

යා කරන්න

| අ | ආ |
|---|---|
| අල්ලාහ් නබිවරුන්ට ප්‍රදානය කළේ | දැනුම, බුද්ධිය, විනය |
| රසූල්වරුන්ගේ කාර්යභාරය | පවුල් ජීවිතය, රැකියා කිරීම |
| රසූල්වරුන් තුළ දක්නට තිබූ ගුණාංග | සුහුෆ් හා ආගම් |
| රසූල්වරුන් මිනිසුන් වශයෙන් කළ දෑ | අල්ලාහ්ගේ පණිවිඩ දැන්වීම |

# 6 අවසන් දූත නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා

අල්ලාහ් විසින් එවන ලද නබිවරුන්ගෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ අවසාන නබිවරයා වන්නෝ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මක්කමෙහි ඉපදුණේ ය. එකල ජනයා ජාහිලියියා නම් අඥානවත්කමෙහි ගිලී සිටියහ.

මිනිසුන්ගේ නූගත්කම දුටු නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා බොහෝ කනගාටු විය. මක්කාවේ පිහිටි හිරා ගුහාවට ගොස් තනි ව ම සිට තම සමාජයේ තත්ත්වය පිළිබඳ ව දුක් විය. එම අවස්ථාවේ ඊට විසඳුම ලෙස අල්ලාහ් අවසාන ආගම වන අල් කුර්ආනය පහළ කළේ ය.



හිරා ගුහාව

අල් කුර්ආනයේ වදන් එකල සමාජයේ ජනයාගේ සිත් තුළ තදින් කාවදින්නට විය. එය ජනයාට යහපත් පුද්ගලයන් ලෙස ජීවත් වීමට මග පෙන්වා දුන්නේය. අල් කුර්ආනය කාලය ගත වීමත් සමග විනාශ නොවන ආගමකි.

එම යුගයේ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ අනුගාමිකයන් "සහාබාවරුන්" ලෙස අමතනු ලැබිණි. අවසාන ආගම වන අල් කුර්ආනය සහාබාවරුන්ට පමණක් නොව, අද දවසේ ජීවත් වන අපටත්, ඉදිරියේ දී අපෙන් පසු ව බිහි වීමට ඇති සමාජයටත් මග පෙන්වීමක් ලෙසින් පවතී.

මෙය අල් කුර්ආනයේ,

අලිෆ් ලාම් මීම් මෙය (අල්ලාහ්ගේ) ශුද්ධ දේව ග්‍රන්ථයයි. මෙහි කිසි දු සැකයක් නොමැත. (මෙය) භක්තිකයන්ට යහමග පෙන්වන්නකි" යැයි පවසයි. (2: 1,2)

ඉහත සඳහන් අල්ලාහ්ගේ වදන් ජිබ්රීල් අලෛහිස් සලාම් තුමා මඟින් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත පහළ කරන ලදි. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ අල්ලාහ්ගේ මඟ පෙන්වීම්වලට අනුව තම ජීවිතය හැඩ ගස්වා ගත්තෝ ය. **එතුමාගේ වචන, ක්‍රියා හා අනුමත කිරීම්** සියල්ල "අස්සුන්නා නැතහොත් අල්හදීස්" ලෙස හැඳින්වේ.

අල්ලාහ්ගේ වදන් වන අල් කුර්ආනය හා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ මග පෙන්වීම් වන අස්සුන්නාව අනුගමනය කිරීම අනිවාර්ය වන්නේ ය.

එබැවින් අප ද අවසන් ආගම වන අල් කුර්ආනයේ උපදෙස් හා අවසාන දූතයාණන් වන නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ මඟ පෙන්වීම් පිළිපැද දෙලොවෙහි ම ජය ලැබීමට අදිටන් කර ගනිමු.

## අභ්‍යාස

### කෙටි පිළිතුරු සපයන්න.

1. මුහම්මද් සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම් තුමා ඉපදුණු අවස්ථාවේ එකල ජනයා ගිලී සිටියේ කුමක ද?
2. මුහම්මද් සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම් තුමා මක්කාවේ හිරා ගුහාවේ සිට දුක් වුණේ කුමක් පිළිබඳ ව ද?
3. මුහම්මද් සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාගේ අනුගාමිකයෝ කුමන නමින් හඳුන්වනු ලබත් ද?
4. මුහම්මද් සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම් තුමාගේ වදන්, ක්‍රියා හා අනුමත කිරීම් සියල්ල කෙසේ අමතනු ලබන්නේ ද?
5. දොලොව ජය ගැනීම සඳහා අප පිළිපැදිය යුත්තේ කුමක් ද?

# 7 අවසන් ආගම අල් කුර්ආන්




අල්ලාහ් ආගම් ප්‍රදානය කොට ජනතාවට මග පෙන්වී ය. ඔහු ප්‍රදානය කළ අවසන් ආගම අල් කුර්ආනය වේ. ඊට පෙර ද ආගම් කිහිපයක් පහළ කර තිබුණි. ඒ සියල්ල කල් ඉකුත් වී ඇත. අවසන් ආගම වන අල් කුර්ආනය පවතී. මෙය පරිපූර්ණ ය. එය ආරක්ෂා කරන ලද්දකි. පිළිපැදිය යුත්තේ එය පමණි. එය අල්ලාහ් වෙතින් ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා මගින් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට ප්‍රදානය කරන ලද්දකි. එතුමා විසින් එය ජනයාට පාරායනය කරන අයුරු පෙන්වා දේශනා කරන ලදි. එතුමා එය අනුගමනය කරන ලෙස ජනතාවට ඇරියුම් කළේ ය.

එය පහළ වූ විට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එය කටපාඩම් කළහ. එය සටහන් කර ගැනීම සඳහා එතුමා සමහර සහාබාවරුන් පත් කළේ ය. ඔවුන් **"කුත්තාබුල් වහී" වහී සටහන් කරන්නන්** නමින් හැඳින්වේ. පසු ව කලීෆා අබූ බක්ර් සිද්දීක් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ අල් කුර්ආනය ග්‍රන්ථයක් ලෙස සංස්කරණය විය. එය **"මුස්හෆ්"** නමින් හැඳින්වේ.

මුද්‍රණ පහසුකම් නොමැති කාල වකවානුවල දී අත් පිටපත් කිහිපයක් පමණක් දක්නට ලැබුණු අතර, පසු කාලීනව මුද්‍රිත පිටපත් එළි දැක්විණි. අද වන විට එයට බොහෝ පරිවර්තන හා විචාර ග්‍රන්ථ දක්නට ඇත.

- ✸ අල් කුර්ආනය අපි දිනපතා පාරායනය කරමු.
- ✸ එහි දේශන වටහා ගනිමු.
- ✸ එය පාරායනය කරන විට සාවධානව අසා සිටිමු.
- ✸ එය කටපාඩම් කරමු.
- ✸ එහි දේශනා එදිනෙදා ජීවිතයේ පිළිපදිමු.

## අභ්‍යාස

### හිස්තැන් පුරවන්න.

1. අපගේ ආගමික ග්‍රන්ථය ..................... වේ.
2. අල්ලාහ් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට අල් කුර්ආනය ප්‍රදානය කළේ ..................... තුමා මගින්ය.
3. අප දිනපතා අල් කුර්ආනය ......................... කළ යුතු ය.
4. ..................... නැමැත්තෝ අල් කුර්ආන් වැකි ලියා තැබූහ.
5. ..................... තුමාගේ කාලයේ අල් කුර්ආනය ග්‍රන්ථයක් වශයෙන් සංස්කරණය කරන ලදි.

# 8 අල් කුර්ආනයේ මහිම

පහළ කළ අල් කුර්ආනය
අල්ලාහ් පිදූ දායාදය
ලොව ඇති සියල්ලෙහි ම
ශ්‍රේෂ්ඨතම වස්තුව වන්නේ

අකුරක් උසුරන විට
කුසල් දහයක් හිමි වන්නේ
කුර්ආනය උසුරන නිවෙස්වල
බරකත් පිරී ඉතිරී යන්නේ

එම අල් කුර්ආනය පාඩම් කළ විට
මහිමය උසස් වන්නේ
මලක්වරුන්ගේ දුආවන්
පිරිපුන් ලෙස හිමි වන්නේ



දේව වදන් පාරායනයෙන්
සිතෙහි සන්සුන් බව ඇති වන්නේ
අප වෙනුවෙන් පරලොවෙහි
කන්නලවු කරන්නට එන්නේ

අප උගත් එම දේව වදන්
මිතුරන්හට පවසන්නේ
සර්ව බලධාරී අල්ලාහ්ගේ
දායාද ලැබ ගන්නේ

♦ එච්. එෆ්. රිස්නා

## අභ්‍යාස

අල් කුර්ආනයේ මහිමයන් 5ක් ලියන්න.

1.
2.
3.
4.
5.

# 9 වුලූඃ

සලාතය ඉටු කරන්නන් වුලූඃ කළ යුතු ය.

නිවැරදි ආකාරයෙන් වුලූඃ කිරීම වැදගත් වේ.

එනිසා,

වුලූඃහි ෂර්ත්, ෆර්ලු හා මුබ්තිලාත් පිළිබඳ ව දැනගෙන ඒවා පිළිපැදිය යුතු ය.

## වුලූඃ හි ෂර්ත් (කොන්දේසි)

- මුස්ලිම්වරයකු වීම
- සිහි බුද්ධිය ඇත්තකු වීම (තම්යීස්)
- වුලූඃ කිරීම ෆර්ලු බව දැන සිටීම
- වුලූඃ ඉටුකරන අයුරු දැන සිටීම
- වුලූඃ කිරීමට සුදුසු පිරිසිදු ජලය සොයා ගැනීම
- වුලූඃ හි ෆර්ල්වන අවයව මත ජලය තැවරීමට බාධාවන දෑ ඉවත් කිරීම

  උදා - තාර, කොහොල්ල, චුවින්ගම්, හුනු යනාදිය.

වුලූඃහි ෆර්ලු (අනිවාර්යයෙන් ම ඉටු කළ යුතු ක්‍රියා)

- නියියත් තැබීම  (සිතින් අදිටන් කිරීම)
- නියියතයත් සමග මුහුණ සේදීම
- වැළමිට ඇතුළුව දෑත් සේදීම
- හිස ජලයෙන් පිරිමැදීම (මස්හු කිරීම)
- විලුඹ ඇතුළුව දෙපා සේදීම
- ඉහත අනුපිළිවෙළ අනුගමනය කිරීම



## වුලූඃහි මුබ්තිලාත් (වුලූඃ කඩ වන ක්‍රියා)

- මල, මූත්‍ර පහ කිරීම
- සිහි බුද්ධිය නැති වීම උදා- මත් වීම, සිහි විකල් වීම, ක්ලාන්තය ඇති වීම යනාදිය මගින් සිහි බුද්ධිය අහිමිවීම
- තිරයක් නොමැති ව අත්ලෙන් ලිංගේන්ද්‍රිය ස්පර්ශ කිරීම
- විවාහවීමට අනුමැතිය ඇති ස්ත්‍රී පුරුෂයන්ගේ අවයව තිරයක් නොමැතිව ස්පර්ශ වීම
- අධෝවාතය පිටවීම

වුලූඃ කඩ වන මෙවැනි ක්‍රියාවන්ගෙන් එකක් හෝ සිදු වූයේ නම්, වුලූඃ කඩ වේ.

එසේ වුලූඃ කඩ වුවහොත් නැවත වතාවක් වුලූඃ කළ යුතු ය.

සැම විට වුලූඃ සමග සිටීම යහපත් පුරුද්දකි.

අභ්‍යාස

## නිවැරදි පිළිතුර යටින් ඉරක් අඳින්න.

1. වුලූඃ කිරීමට සුදුසු පිරිසිදු ජලය සෙවීම (ෂර්ත්, ෆර්ලු) වේ.

2. නියියත් සමග මුහුණ සේදීම (සුන්නත්, ෆර්ලු) වේ.

3. මස්හු කිරීම යනු (හිස සේදීම, ජලයෙන් හිස පිරිමැදීම) වේ.

4. දෑත් සේදීමේ සීමාව (විලුඹ, වැළමිට) දක්වා වේ.

5. මල පහ කරන විවර තුළින් වාතය පිට වීමෙන් වුලූඃ (කඩ නොවේ, කඩ වේ)

# 10 සලාතයේ වැදගත්කම

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට මිඃරාජ් ගමනේ දී ලැබූ ත්‍යාගය සලාතයයි. ඉස්ලාම් ධර්මයේ ඇති පංච මහා වගකීම් අතුරින් දෙවන ස්ථානය සලාතයට හිමි වේ. ඉස්ලාමය වැළඳගත් පුද්ගලයකු විසින් පළමුව ඉටු කළ යුතු වගකීම වන්නේ මෙම සලාතයයි. මුස්ලිම් හා මුස්ලිම් නොවන අය අතර වෙනස ද සලාතයයි. එය ඉටු නොකරන්නා ඉස්ලාම් දහමෙන් ඉවත්වූවකු සේ සලකනු ලබන්නේ ය.



සලාතය ඉතා වැදගත් වගකීමක් වන නිසා අල්ලාහ් එය සෑම නබිවරයකු කෙරෙහි ම වගකීමක් කළේ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට පෙර පහළ වූ නබිවරු සියලු දෙනා ම සලාතය ඉටු කළහ; තම සමාජයට ද සලාතය ඉටු කරන ලෙස අණ කළෝ ය. එය පිළිබඳව නොසැලිකිලිමත් වීම පාපයකි. එය ඉටු නොකිරීම අප නිරය වෙත රැගෙන යන වරදකි. එබැවින් තමන් කෙරෙහි සලාතය අනිවාර්ය වූ මුස්ලිම්වරයකු තම ජීවිතයේ අවසන් මොහොත දක්වා එය පිළිපැදිය යුතු ය.

මුහම්මද් සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමා මරණාසන්න ව වැතිරී සිටි අවස්ථාවේ දීත් සලාතය ඉටු කළේ ය. දුෂ්කර අවස්ථාවල දී පවා තම උම්මත්වරුන්ට සලාතය පිළිබඳ ව වසියියත් කළේය. දරුවෙකුට වයස අවුරුදු 7ක් වූ විට සලාතය ඉටු කරන මෙන් අණ කරන ලෙසත්, වයස අවුරුදු 10ක් වුවද සලාතය ඉටු නොකළහොත් දඬුවම් කර හෝ සලාතයේ යෙදවීමටත් මගපෙන්වා ඇත්තේ ය.

අවසාන දිනයේ දී අල්ලාහ් ගැත්තන්ගෙන් පළමු ව විමසන්නේ සලාතය පිළිබඳ ව ය. සලාතය යහපත් වූ විට ඔහුගේ සියලු ක්‍රියා යහපත් වේ. එය අයහපත් වූ විට සියලු ක්‍රියා අයහපත් වේ.

ගැත්තන් ඉටු කරන යහ ක්‍රියාවන්ගෙන් ශ්‍රේෂ්ඨතම ක්‍රියාව වන්නේ නියමිත වේලාවේ ඉටු කරන සලාතය වන බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ දේශනා කර ඇත්තාහ. එය සලාතයේ වැදගත්කම අවධාරණය කරනවා නොවේ ද?

මුස්ලිම්වරයකු ජීවිතයේ කිසි දු අවස්ථාවක සලාතය අතපසු කිරීමෙන් වැළකිය යුතු ය. ගමනෙහි යෙදෙන අවස්ථාවල දී ද, සලාතය ඉටු කළ යුතු ය. වුලූඃ කළ නොහැකි අවස්ථාවල දී ද "**තයම්මුම්**" කර සලාතය ඉටුකළ යුතු ය. යුද බිය සහිත කුරිරු අවස්ථාවල දී ද සලාතය ඉටු කළ යුතු ය. ඉහත සඳහන් අවස්ථාවන්හි දී අනිවාර්යයෙන් සලාතය ඉටු කළ යුතු ය. එය කිසි විටෙකත් අතපසු නොකළ යුතු ය. ගැටලු සහිත අපහසු අවස්ථාවල දී ද සලාතය ඉටු කළ යුතු ආකාරය පිළිබඳ ව ඉස්ලාම් දහම පෙන්වා දී ඇත.

එබැවින් අපගේ එදිනෙදා ජීවිතයේ සෑම අවස්ථාවක දී ම සලාතය නොකඩවා ඉටු කළ යුතු ය. සුළු සුළු කාරණා හේතු කොටගෙන සලාතය අතපසු කිරීමෙන් සම්පූර්ණයෙන් ම වැළකී සිටිය යුතු ය.

නිවසේ හෝ පාසලේ පැවැත්වෙන උත්සවවල දී ද නොවරදවා ම සලාතය ඉටු කළ යුතු ය. එය ඉටු කරන ලෙස එකිනෙකා මතක් කළ යුතු ය.

මාගේ ප්‍රාණය මාගෙන් වෙන් වී යන තුරු කිසිවිටෙකත් සලාතය කඩ නොකරන බවට සිතින් අදිටන් කරමින් එය පිළිපදිමු.

## අභ්‍යාස

**පහත සඳහන් වැකි හරි නම් (✓) ලකුණ ද, වැරදි නම් (×) ලකුණ ද යොදන්න.**

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට හිජ්රත් ගමනේ දී ලැබූ ත්‍යාගය සලාතය වේ. (    )

2. පරලොවේ දී මුලින් ම ප්‍රශ්න කරන්නේ සලාතය පිළිබඳ ව ය. (    )

3. පංච මහා වගකීම් අතර සලාතය පළමුවැන්න වේ. (    )

4. සියලු නබිවරුන්ට සලාතය ප්‍රදානය කොට තිබිණි. (    )

**හිස්තැන් පුරවන්න.**

(ක්‍රියා, අවුරුදු දහය, අවසන් හුස්ම, සලාතයේ, මුලින් ම)

1. පරලොවේ දී අල්ලාහු තආලා ගැත්තන්ගෙන් .................. ප්‍රශ්න කරනුයේ සලාතය පිළිබඳ ව ය.

2. මිනිසකුගේ සලාතය යහපත් වූ විට ඔහුගේ .......................... සියල්ල යහපත් වේ.

3. වයස ......................... ක මුස්ලිම් දරුවකු සලාතය නොකරන්නේ නම් දඬුවම් කර හෝ සලාතයේ යෙදවිය යුතු ය.

4. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මරණාසන්න ව සිටිය දී .................. වැදගත්කම පිළිබඳ ව කියා දුන්හ.

5. .................. දක්වා ඉටු කළ යුතු වගකීම්වලින් එකක් ලෙස සලාතය සැලකේ.

## ක්‍රියාකාරකම්

ඔබේ මිතුරකුට හෝ මිතුරියකට සලාතයේ වැදගත්කම සඳහන් කරමින් ලිපියක් ලියන්න.

# 11 සලාතය ඉටු කරමු

දෙවන පාඩමට නියමිත සීනුව නාද විය. හතර වසර සිසුහු ඉස්ලාම් පාඩම් ගුරුතුමා පැමිණෙන තෙක් උනන්දුවෙන් මග බලා සිටියහ. ගුරුතුමා සලාම් කියමින් පන්තියට ඇතුළු වූවේ ය. සිසුහු පිළිතුරු සලාම් කියා ගුරුතුමා පිළිගත්හ.

ගුරුතුමා :- ආදරණීය දුවේ පුතේ, අපි පහුගිය පාඩමේ සලාතයේ වැදගත්කම ගැන ඉගෙන ගත්තා. අද සලාතයේ ෆර්ලු හා ෂර්ත් ගැනත් ඉගෙන ගනිමු. ෆර්ලු හා ෂර්ත් කියන්නේ මොනවා ද කියලා නුස්හී කියන්නකෝ බලන්න.

නුස්හී :- අපි අපේ මද්රසාවේ ඉගෙන ගන්න කොට මුඅල්ලිම් තුමා අපට කියා දුන්නා මට මතකයි. ඉස්ලාමයේ වගකීම් ඉටු කරන විට අනිවාර්යයෙන් ම කරන්නට වුවමනා කරන දේවල්වලට ''ෆර්ලු'' කියා ද, ඒ වගකීම් ඉටු කරන්නට කලින් සම්පූර්ණ වෙලා තියෙන්නට ඕන කරන කොන්දේසිවලට ''ෂර්ත්'' කියා ද අපි කියනවා.

ගුරුතුමා :- නුස්හී කිව්වා හරි. දැන් අහ්මද් කියන්නකෝ බලන්න, සලාතයේ ෆර්ලු හා ෂර්ත් කීය ද කියලා.

අහ්මද් :- සර් ෆර්ලු දහ නවයයි. ෂර්ත් දහයයි.

ගුරුතුමා :- හොඳයි, අපි දැන් ඒ ෆර්ලු හා ෂර්ත් මොනවා ද කියලා බලමු ද (යැයි පවසා ගුරුතුමා තමා විසින් සූදානම් කරන ලද වගු සටහන් දෙකක් බිත්තියේ එල්ලුවේ ය.)අෆ්ලල්, මුලින් ම ෂර්ත් ටික කියවන්නකෝ බලන්න.

## සලාතයේ ෂර්ත් 10

1. මුස්ලිම්වරයකු වීම
2. සිහි බුද්ධිය තිබීම
3. පිරිසිදුව සිටීම (වුලූඃ/ දිය නෑම)
4. ශරීරය, ඇඳුම්, ස්ථානය යනාදිය පිරිසිදු ව තිබීම
5. වැසිය යුතු කොටස් (අව්රත්) ආවරණය වී තිබීම
6. කිබ්ලාව දෙසට හැරී සිටීම
7. තමන් කෙරෙහි සලාතය අනිවාර්ය බව දැන සිටීම
8. සලාතයේ වේලාව දැන සිටීම
9. සලාතය ඉටු කරන ආකාරය දැන සිටීම
10. ෆර්ලු හා සුන්නත් වෙන් වෙන් ව දැන සිටීම

ගුරුතුමා :- බොහොම හොඳයි. දැන් අබ්දුල්ලාහ් සලාතයේ ෆර්ලු ටික කියවන්නකෝ බලන්න.

## සලාතයේ ෆර්ලු 19

1. "අල්ලාහ් වෙනුවෙන් සලාතය ඉටු කරමි" යැයි සිතින් නියියත් තැබීම
2. සලාතය සිටගෙන ඉටු කළ හැකි අය එසේ සිටගෙන ඉටු කිරීම
3. ආරම්භක තක්බීරය (තක්බීර් තහ්රීමා) පැවසීම
4. බිස්මි සමග සූරතුල් ෆාතිහා උසුරීම
5. රුකූඋ කිරීම
6. එහි රැඳී සිටීම
7. ඉඃතිදාලයට පැමිණීම
8. එහි රැඳී සිටීම
9. පළමු සුජූද් කිරීම
10. එහි රැඳී සිටීම
11. මැද හිඳුමට පැමිණීම
12. එහි රැඳී සිටීම
13. දෙවන සුජූද් කිරීම
14. එහි රැඳී සිටීම
15. අවසාන අත්තහියියාත්හි හිඳ ගැනීම
16. එහි දි අත්තහියාතය උසුරීම
17. අත්තහියියාතයේ දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත සලවාත් පැවසීම
18. පළමු සලාම් පැවසීම
19. ඉහත අනුපිළිවෙළින් ඉටු කිරීම

ගුරුතුමා — හොඳමයි දුවේ පුතේ දැන් සලාතයේ හැම ඉරියවුවක් ගැනත්, ඒ ඉරියවුවල දී අපි උච්චාරණය කළ යුතු දේ ගැනත් මෙන්න මේ රූප රාමුවලින් අපි බලමු ද?

1 ආරම්භක තක්බීර්

اَللّٰهُ اَكْبَرُ

අල්ලාහු අක්බර්



2. ප්‍රථම අවස්ථාව

1. වජ්ජහතු
2. සූරතුල් ෆාතිහා
3. කුඩා සූරාවක් හෝ ආයත් කිහිපයක්



## 3. රුකූඋ



سُبْحَانَ رَبِّيَ
الْعَظِيْمِ وَبِحَمْدِهِ

සුබ්හාන රබ්බියල් අලීම් වබිහම්දිහි

## 4. රුකූඋ සිට නැගිටීම

سَمِعَ اللهُ لِمَنْ حَمِدَهُ

සමිඅල්ලාහු ලිමන් හැමිදා



## 5. ඉඃතිදාලයට පැමිණ සිටගැනීම



رَبَّنَا لَكَ الْحَمْدُ مِلْءَ السَّمَاوَاتِ وَمِلْءَ
الأَرْضِ وَمِلْءَ مَا شِئْتَ مِنْ شَيْءٍ بَعْدُ.

රබ්බනා ලකල් හම්දු මිල්අස් සමාවාති වමිල්අල්
අර්ලි වමිල්අ මාශිඃත මින් ශෛඉන් බඃදු

## 6. සුජූද් කිරීම



سُبْحَانَ رَبِّيَ
الأَعْلَى وَبِحَمْدِهِ

සුබ්හාන රබ්බියල් අඃලා වබිහම්දිහි

## 7. මැද හිඳුම






රබ්බිහ්ෆිර්ලී වර්හම්නී වජ්බුර්නී වර්ෆඃනී
වර්සුක්නී වහ්දිනී වආෆිනී

## 8. අත්තහියියාත් හිඳුම

1. අත්තහියියාත් පාරායනය කිරීම
2. සලවාත් කීම



## 9. සලාම් පැවසීම






අස්සලාමු අලෛකුම්
වරහ්මතුල්ලාහ්

ගුරුතුමා එක ඉරියව්වක ඉඳලා තවත් ඉරියව්වකට අපි යන කොට "අල්ලාහු අක්බර්" කියලත්, රුකූඋ ඉඳලා නැගිටින කොට විතරක් ''සමිඅල්ලාහු ලිමන් හමිදහ්'' කියලා උසුරන්නට ඕනෑ.

## අභ්‍යාස

### වරහන් තුළ ඇති හරි පිළිතුර යටින් ඉරක් අඳින්න.

1. සලාතය සිටගෙන ඉටු කළ හැකි අය එසේ සිටගෙන ඉටු කිරීම (ෆර්ලු, ෂර්ත්) වේ.
2. "සුබ්හාන රබ්බියල් අලීම් වබිහම්දිහී" යන දුආව උසුරිය යුත්තේ (රුකූඋ, සුජූද් හි) දී වේ.
3. "තක්බීර් තහ්රීමා" යනු (තක්බීර් බැඳීම, ආරම්භක තක්බීර් කීම) වේ.
4. රුකූඋහි සිට කෙලින් නැගිට සිටීම හඳුන්වන්නේ (ඉඃතිදාල්, සුජූද්) යනුවෙනි.

### කෙටි පිළිතුරු සපයන්න.

1. සලාතයේ ෂර්ත් 3ක් සඳහන් කරන්න.
2. සලාතයේ මැද හිඳුමෙහි දී පාරායනය කරන ප්‍රාර්ථනාව සිංහල අකුරින් ලියන්න.

## ක්‍රියාකාරකම්

සූරතුල් ෆාතිහාව කටපාඩම් කර ඔබගේ ගුරුවරයා වෙත පාරායනය කර පෙන්වන්න.

# 12 සූරතුල් ෆලක්

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ○

قُلْ اَعُوْذُ بِرَبِّ الْفَلَقِ ﴿۱﴾ مِنْ شَرِّ مَا خَلَقَ ﴿۲﴾ وَمِنْ شَرِّ

غَاسِقٍ اِذَا وَقَبَ ﴿۳﴾ وَمِنْ شَرِّ النَّفّٰثٰتِ فِی الْعُقَدِ ﴿۴﴾

وَمِنْ شَرِّ حَاسِدٍ اِذَا حَسَدَ ﴿۵﴾

අපරිමිත දයාබර වූ ද, අසමසම කාරුණික වූ ද අල්ලාහ්ගේ නාමයෙන් ආරම්භ කරමි.

1. (නබිවරයාණෙනි! ඔබ) පවසන්න.

   අරුණෝදයෙහි රක්ෂකයාණන්ගෙන් මම ආරක්ෂාව පතමි.

2. ඔහු මැවූ දේවල නපුරෙන්,

3. අන්ධකාරය පැතිරෙන විට ඇති වන රාත්‍රියෙහි නපුරෙන් ද,

4. තව ද, ගැට මත (මතුරා) පිඹින ස්ත්‍රීන්ගේ නපුරෙන් ද,

5. ඊර්ෂ්‍යා කරන්නා, ඊර්ෂ්‍යා කරන විට ඇති වන නපුරෙන් ද (මම ආරක්ෂාව පතමි)

ආයත් පහකින් සමන්විත මෙම සූරාව මක්කාවේ දී පහළ විය. මෙය අල් කුර්ආනයේ 113 වැනි පරිච්ඡේදය වේ. මෙය ''අල් **මුඅව්විදතයින්**'' යනුවෙන් හඳුන්වන සූරා දෙකෙන් එකකි.

මෙය අපට ආරක්ෂාව ලබා දෙන්නකි. "මෙම සූරාව උදේ, සවස පාරායනය කරන්නන්ට සියලු ආකාරයේ විපත්තිවලින් ආරක්ෂාව ලැබෙනු ඇත" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

තව ද පංච කාල සලාතයන්ට පසු ව ද, නිදා ගැනීමට පෙර ද උදේ හවස පාරායනය කිරීම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පෙන්වා දුන් මඟපෙන්වීමකි.

## අභ්‍යාස

**පහත සඳහන් වැකි හරි නම් (✓) ලකුණ ද, වැරදි නම් (✗) ලකුණ ද යොදන්න.**

1. සූරතුල් ෆලක් ''මුඅව්විදතයින්'' සූරාවලින් එකකි ( )
2. මෙය අල් කුර්ආනයේ අවසාන පරිච්ඡේදය වේ ( )
3. පස්වේල් සලාතයෙන් පසු ව සූරතුල් ෆලක් පාරායනය කිරීම සුන්නත් වේ ( )
4. මෙම සූරාව පාරායනය කිරීම මගින් අල්ලාහ්ගේ ආරක්ෂාව අපට ලැබේ ( )

# 13 සූරතුන් නාස්

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ۝

قُلْ اَعُوْذُ بِرَبِّ النَّاسِ ۝١ مَلِكِ النَّاسِ ۝٢ اِلٰهِ النَّاسِ ۝٣

مِنْ شَرِّ الْوَسْوَاسِ ۙ الْخَنَّاسِ ۝٤ الَّذِيْ يُوَسْوِسُ فِيْ

صُدُوْرِ النَّاسِ ۝٥ مِنَ الْجِنَّةِ وَالنَّاسِ ۝٦

අපරිමිත දයාබර වූ ද, අසමසම කාරුණික වූ ද අල්ලාහ්ගේ නාමයෙන් ආරම්භ කරමි.

1. (නබිවරයාණෙනි! ඔබ) පවසන්න.

   මිනිසුන්ගේ රක්ෂකයාණන්ගෙන් මම ආරක්ෂාව පතමි.

2. මිනිසුන්ගේ අධිපති (ඔහු ම ය)

3. මිනිසුන්ගේ (නැමදීමට සුදුසු) දෙවියා (ඔහු ම ය)

4. සැඟවී සිට සැක සහිත නපුරු සිතුවිලි ඇති කරන්නා (වන ෂයිතාන්ගේ) නපුරෙන් (මම ආරක්ෂාව පතමි)

5. මොහු (සැඟවී සිටින ෂයිතාන්) මිනිසුන්ගේ සිතෙහි සැකය උපදවයි.

6. (මෙවැන්නෝ) ජින්වරුන් හා මිනිසුන් අතර සිටිති.

මෙම  සූරාව මක්කාවේ දී පහළ විය.  මෙහි වැකි 6ක් අඩංගු වේ. මෙය අල් කුර්ආනයේ අවසාන (114) සූරාව වේ. මෙම සූරාව ද මීට පෙර සූරාවද **"මුඅව්විදතයින්"** යැයි හඳුන්වනු  ලැබේ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙම සූරාව ෆර්ලු සලාතයන්ට පසු ව ද, නිදා ගැනීමට පෙර ද, උදේ හවස ද පාරායනය කළහ. මෙලෙස පාරායනය කරන්නෝ අල්ලාහ්ගේ ආරක්ෂාව ලබා ගනිති.

## අභ්‍යාස

### කෙටි පිළිතුරු ලියන්න

1. සූරතුන් නාස්හි අන්තර්ගත වාක්‍ය ගණන කීය ද?
2. "මුඅව්විදතයින්" යනුවෙන් හඳුන්වන සූරාවන් දෙක මොනවා ද?
3. මෙම සූරාව පාරායනය කිරීමෙන් ලැබෙන ප්‍රයෝජන මොනවා ද?
4. මෙම සූරාව පාරායනය කරන අවස්ථා දෙකක් ලියන්න.

## ක්‍රියාකාරකම්

සූරතුන් නාස්, සූරතුල් ෆලක් යනාදී සූරාවන් කටපාඩම් කොට ගුරුතුමා ඉදිරියේ පාරායනය කරන්න.

# 14 පිරිසිදුකම රැකගනිමු

පිරිසිදුකම සැවොම ප්‍රිය කරන දෙයකි. මිනිසුන් වන අප සැම විට ම පිරිසිදු ව සිටිය යුතු ය. පිරිසිදු ව සිටීම මගින් නීරෝගී භාවය හා උද්යෝගීමත්කම ඇති වේ.

ඉස්ලාම් දහම පිරිසිදුව සිටීම අවධාරණය කරයි. අල්ලාහ් පිරිසිදු ව සිටින්නන්හට දයාව දක්වයි. ''පිරිසිදුකම ඊමානයේ අඩකි'' යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

අප අපගේ සිරුර සැම විට ම පිරිසිදු ව තබාගත යුතු ය.
එම නිසා උදෑසන හා රාත්‍රී නින්දට පෙර දත් මදිමු.
දිනපතා අත්, පා, මුහුණ සෝදා පිරිසිදු ව සිටිමු.






කිලිටි ඉවත් කර, දිය නා ශරීරය පිරිසිදු ව තබා ගනිමු.

සතිපතා නියපොතු කපමු.

හිස කෙස් මනා ලෙස කපා, දිනපතා හිස තෙල් ගල්වා, පීරා අලංකාර ව සිටිමු;

පිරිසිදු ව ඇඳුම් අඳිමු; සුවඳ විලවුන් ගල්වා ගනිමු.

පාසල් නිල ඇඳුම, සපත්තු, පොත් බෑගය, පොත් පත් යනාදිය නිතර පිරිසිදු ව හා පිළිවෙළට තබා ගනිමු.

සුදුසු ඇඳුම් පැලඳුම් පමණක් පාසලට ඇඳ පැලඳ ඒමට පුරුදු වෙමු.

නිවසේ භාණ්ඩ පිරිසිදු ව තබා ගනිමු.

සියලු ම භාණ්ඩ අදාළ ස්ථානයන්හි තැබීමට පුරුදු වෙමු.



ඇඳුම් සෝදා, වේළා, නමා ඒ ඒ අදාළ ස්ථානයන්හි පිළිවෙළින් තබමු.

"කෙනෙකු තම වැඩ කටයුතු පිළිවෙළට ඉටු කිරීම, අල්ලාහ් ප්‍රිය කරයි" යන නබි වදනට අනුව ජීවිතය හැඩ ගස්වා ගැනීමට අපි අද පටන් අදිටන් කර ගනිමු.

## අභ්‍යාස

### හිස් තැන් පුරවන්න.

1. .................. පිරිසිදු ව සිටින්නන්ට දයාව දක්වයි.
2. උදේ සහ ................... යෑමට පෙර දත් මැද පිරිසිදු ව සිටිය යුතු ය.
3. සතිපතා .................... කපා පිරිසිදු ව සිටිමු.
4. කෙනකු තම වැඩ කටයුතු .......................... කිරීම අල්ලාහ් ප්‍රිය කරයි.

# 15 අපේ ගෙදර



මෙය අපගේ නිවස ය. මෙය අල්ලාහ් අපට ලබා දුන් දායාදයකි. අපි මෙහි පවුලක් ලෙස ජීවත් වන්නෙමු. මෙහි අපට සැනසුම ද, ආරක්ෂාව ද ලැබේ. අපි අපේ නිවස පිරිසිදු ව, අලංකාර ව හා පිළිවෙළට තබා ගනිමු.

නිවසේ අභ්‍යන්තරය පිරිසිදු ව තබා ගනිමු. නිවසේ බිත්තිය, පොළොව, ආලින්දය, නිදන කාමරය, මුළුතැන්ගෙය, නාන කාමරය, වැසිකිළිය යන සෑම තැනක් ම පිරිසිදු කරමු. ඒවා දිනපතා තෙත මාත්තු කර පිරිසිදු කරමු. අලංකාර ව හා සුවඳවත් ලෙස තබා ගනිමු.

නිවසෙහි පරිහරණය කරන ගෘහ භාණ්ඩ, ජනෙල්, තිර රෙදි, ඇඳ රෙදි යනාදී සියල්ල පිරිසිදු ව හා පිළිවෙළින් අදාළ ස්ථානයන්හි තැබීමට සහාය වෙමු.

භාජන පිරිසිදු ව තබා ගනිමු; ඒවා වසා තබමු. නිවස අවට පරිසරය දිනපතා අතු ගා පිරිසිදු ව තබා ගනිමු. මල් පැළ හා එළ ලබා දෙන ගස් සිටවමු. ඒවාට ජලය හා පොහොර දමා නඩත්තු කරමු.

අපි සියලු දෙනා අප නිවස තුළ සමගියෙන් හා සතුටින් ජීවත් වෙමු. දිනපතා අල් කුර්ආනය පාරායනය කිරීම, සලාත් කිරීම, දික්ර් කිරීම වැනි යහ ක්‍රියාවලින් නිවස අලංකාරවත් කර ගනිමු. මෙවැනි යහ ක්‍රියා මගින් අල්ලාහ් අපගේ නිවස හා පවුල වෙත දායාද පහළ කරයි. එනිසා අපි අල්ලාහ්ට තව තවත් ස්තුති කරමු.

## අභ්‍යාස

### කෙටි පිළිතුරු ලියන්න.

1. නිවස පිරිසිදු ව තබා ගැනීම සඳහා අපට කළ හැකි ක්‍රියා 3 යෝජනා කරන්න.

2. තෙත මාත්තු කර පිරිසිදු කළ යුතු ස්ථාන 3ක් සඳහන් කරන්න.

3. නිවස අලංකාර කර ගත යුත්තේ කෙසේ ද?

4. අල්ලාහ්ගේ තෘප්තිය ලබා ගැනීම සඳහා අප විසින් නිවෙස්වල කළ හැකි ක්‍රියා 3ක් ලියන්න.

# 16 පරිසරය සුරකිමු

අප ජීවත් වන අප අවට පරිසරය අල්ලාහ්ගේ දායාදයකි. අල්ලාහ් අපට ලබා දි ඇති මෙම දායාදය ආරක්ෂා කර ගැනීම අපගේ යුතුකමකි.

අපගේ පරිසරය තුළ පොළොව, ජලය, මහා මාර්ග, ගස්, සතුන්, භෞතික වස්තු ආදිය අන්තර්ගත වේ.

පොළොව, ජලය, මහාමාර්ග යනාදිය අපවිත්‍ර වීමට ඉඩ නොදී ඒවා සුරකිමින් නඩත්තු කිරීම, පරිසරය ආරක්ෂා කිරීම ලෙස සලකමු.

පරිසරය ආරක්ෂා කළ යුතු ආකාරය පිළිබඳ ව ඉස්ලාම් දහම අපට කියා දී ඇත.



ගස් සිටුවා, සරු සාරවත් කර ඒවා විනාශ වී යාමට නොදී ආරක්ෂා කිරීම හා පිරිසිදු ව තබා ගැනීම පොළොව ආරක්ෂා කිරීම වේ.

"පරමාන්ත දිනය පැමිණෙන අවස්ථාවේ දී ද නුඹගේ දෑතෙහි පැළයක් තිබුණහොත් එය සිටුවන ලෙස නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

අපට දායාදයක් ලෙස ලැබුණු ජලය ආරක්ෂා කර ගත යුතු ය. ජලය නාස්ති නොකර අරපිරිමැස්මෙන් භාවිත කළ යුතු ය. ජලාශවලට කැළි කසළ බැහැර කිරීම, එය අපවිත්‍ර කිරීම, අපිරිසිදු ජලය ජලාශවලට මුදා හැර පරිසරය දූෂණය කිරීම යනාදිය පාපී ක්‍රියා වේ.

''ඔබගෙන් කිසිවකු ගලා නොයන ජලයේ මූත්‍ර කර එය දූෂණය නොකරන්න'' යනුවෙන් ද,

''සෙවණ ලබාදෙන හා ඵල දරන ගස් යට ද, ජලාශවල ද මල පහ කර අපිරිසිදු නොකරන්න'' යනුවෙන් ද නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

නිවසට යන එන මාර්ග හා කාණු පිරිසිදු ව තබා ගත යුතු ය. සතියට වරක් හෝ පවුලේ උදවිය සමග හෝ මිතුරන් සමග හෝ අසල්වාසීන් සමග හෝ එක් වී පිරිසිදු කිරීමේ සේවයෙහි නියැලෙමු.

නිවසේ එකතු වන කුණුකසළ ක්‍රමවත් ආකාරයෙන් බෙදා වෙන් කර නියමිත ස්ථානයන්හි දැමිය යුතු ය. හැකි නම් කුණුකසළ භාවිත කර ස්වාභාවික පොහොර නිපදවා ගෙවත්තක් සකස් කිරීමට උත්සාහ කළ යුතු ය.

අක්‍රමවත් ලෙස කුණුකසළ පුලුස්සා දැමීම, අධික ශබ්දය, දුගඳ හමන කුණු පිටකිරීම වැනි ක්‍රියා අපගේ වායුගෝලය දූෂණය කරයි. එනිසා එවැනි ක්‍රියාවන්ගෙන් වැළකී සිටීම අපගේ යුතුකමකි.

සියල්ලන්ට ම පොදු වූ අපේ පරිසරය සුරැකීමට අපි ද දායක වෙමු.

## අභ්‍යාස

### කෙටි පිළිතුරු ලියන්න.

1. "පරිසරය සුරැකීම" යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද?
2. ජලාශ පිරිසිදු ව තබා ගැනීමට ඔබගේ අදහස් දක්වන්න.
3. වායුගෝලය දූෂණය කරන ක්‍රියා 3ක් සඳහන් කරන්න.
4. මල, මූත්‍ර කර අපිරිසිදු නොකළ යුතු යැයි අවවාද කරන හදීසයේ සඳහන් ස්ථාන 2ක් ලියන්න.

# 17 නජීස් ඉවත් කරමු

ඉස්ලාම් දහම පිරිසිදුකම අගය කරයි. ජීවිතයේ සෑම අවස්ථාවක දීම පිරිසිදු ව සිටීමට එය මග පෙන්වයි. පිරිසිදු ව සිටින්නන්ට අල්ලාහ් ද දයාව දක්වයි. මලක්වරු හා මිනිස්සු ද ඔහුට ආදරය දක්වති. නමුත් කිසිවෙක් අපිරිසිදු ව සිටීම ප්‍රිය කරන්නේ නැත.

මේ අනුව නජීස් යනු කුමක් ද, එහි වර්ග මොනවා ද, ඒවායින් මිදී පිරිසිදු වන්නේ කෙසේ ද, යන්න පිළිබඳ ව විස්තරාත්මක ව ඉස්ලාම් දහම අපට කියා දී තිබේ.

සෑම ආකාරයක ම අපිරිසිදු දෑ "නජීස්" යන අරාබි පදයෙන් හැඟවේ. ඉස්ලාමීය නීති විද්වත්හු එම නජීස්වල තත්ත්වය අනුව **1. සැහැල්ලු නජීස් 2. සාමාන්‍ය නජීස් 3. දැඩි නජීස්** යැයි වර්ග තුනකට බෙදා පහදා දී ඇත්තෝ ය.

### 1. සැහැල්ලු නජීස්

මව් කිරි පමණක් බී වැඩෙන, වයස අවුරුදු 2ට අඩු පිරිමි දරුවකුගේ මූත්‍ර මෙම වර්ගයට අයත් වේ. මෙම නජීසය තැවරුණු ස්ථානය මත ජලය ඉසීමෙන් පමණක් එම ස්ථානය පිරිසිදු කිරීම ප්‍රමාණවත් වේ.

### 2. සාමාන්‍ය නජීස්

මිනිසාගේ හා අනෙකුත් ජීවීන්ගේ මල, මූත්‍ර හා රුධිරය යනාදියත් එවැනි තවත් දේත් මීට අයත් වේ. මෙවැනි නජීස් තැවරුණහොත් ප්‍රථමයෙන් එය ඉවත් කළ යුතු ය. පසු ව එහි පැහැය, සුවඳ හා රසය වැනි ගුණාංග ඉවත් වනතුරු පිරිසිදු ජලයෙන් සේදිය යුතු ය. අවශ්‍ය නම් සබන් භාවිත කළ හැකි ය.

### 3. දැඩි නජීස්

බල්ලන්ගෙන් සහ ඌරන්ගෙන් බිහි වූ සතුන්ගේ ශරීරයෙන් වෙන් වූ කොටස් සහ උන්ගේ කෙළ, මල හා මූත්‍ර යනාදිය මෙම නජීස් වර්ගයට අයත් වේ. මෙවැනි නජීස් මිනිසාගේ ශරීරයේ, ඇඳුමෙහි හෝ භාවිත කරන ද්‍රව්‍යවල තැවරුණහොත් එය ඉවත් කිරීමට සත් වරක් පිරිසිදු ජලයෙන් සේදිය යුතු ය. ඉන් එක් වතාවක දී පස් මිශ්‍ර ජලය භාවිත කළ යුතු ය.

නජීසයේ වර්ග පිළිබඳ ව දැනගත් අපි සැම විට ඉන් මිදී පිරිසිදු ව සිටිමු.

#### අභ්‍යාස

යා කරන්න.

| (අ) | (ආ) |
|---|---|
| නජීස් යන්නෙහි අර්ථය | බල්ලා සහ ඌරා |
| පිරිමි දරුවකුගේ මූත්‍ර | සත් වරක් සේදිය යුතු ය |
| දැඩි නජීස් | වර්ණය, සුවඳ ඉවත් විය යුතු ය |
| ඌරාගේ කෙළ තැවරුණු දේ | සැහැල්ලු නජීස් |
| අපිරිසිදු දේ පිරිසිදු වන විට | අපිරිසිදු |

# 18 නායකත්වයට අවනත වෙමු



අප දිනපතා පස්වරක් ජමාඅත් වශයෙන් මස්ජිදය තුළ සලාතය ඉටු කරනවා නොවේ ද? එවිට අපි සුදුසු ඉමාම්වරයකු (නායක යකු) අනුගමනය කර සලාතය ඉටු කරන්නෙමු. එම සලාතයේ ඉමාම්තුමා සම්පූර්ණයෙන් ම පිළිපදින්නෙමු. ඉමාම්තුමාට කිසියම් වැරදීමක් සිදු වුවහොත් අවනත භාවයට හානි නොවන පරිදි ඔහු නිවැරදි කරන්නෙමු. අල්ලාහ් අපට මෙවැනි වගකීමක් අනිවාර්ය කළේ ඇයි දැයි, ඔබ සිතා බැලුවේ ද?

අපට සාමූහික ව ජීවත් වන ලෙස හා නායකයකු නියම කර ඔහුට අවනත වන ලෙස ඉස්ලාම් දහම අනිවාර්ය කර ඇත.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙසේ පැවසූහ. ''නුඹලාගෙන් තිදෙනෙකු එක් ව සිටියහොත්, ඉන් කෙනෙකු නායකයකු ලෙස පත් කර ගන්න.''

නායකයකු පත් කර ඔහුට අවනත වීමේ පුහුණුවක් ලෙස අල්ලාහ් ජමාඅත් සලාතය අපට අනිවාර්ය කර ඇත්තේ ය.

නායකයකු පත්කර ගත් පසු ඔහුට අවනත වීම අපගේ යුතුකමකි. ඒ පිළිබඳ ව අල් කුර්ආනය මෙසේ පවසයි. ''නුඹලා අල්ලාහ්ට අවනත වන්න. ඔහුගේ දූතයාට හා ඔබගේ වගකීම් දරන භාරකරුවන්ට අවනත වන්න''

වගකීම් දරන භාරකරුවන් ලෙස අල් කුර්ආනය අදහස් කරන්නේ කවුරුන් ද?

රටක නායකයා වන ජනාධිපති, ගමක නායකයා වන ග්‍රාම නිලධාරි, නිවසක නායකයා වන පියා හෝ මව, පාසලක නායකයා වන විදුහල්පති, පන්තියක නායකයා වන ගුරුතුමා හෝ පන්ති නායක, වගකීම් දරන්නනෝ වෙති.



මෙලෙස ක්‍රීඩා කරන විට, ගමනක යෙදෙන විට, කණ්ඩායම් වශයෙන් ක්‍රියාවක නියැලෙන විට හෝ එවැනි විවිධ අවස්ථාවල දී අපි නායකයන් පත් කර ගනිමු.

මෙම නායකයෝ වගකීම් දරන්නෝ වෙති. මේ අයට ද අවනත ව ක්‍රියා කිරීම අල්ලාහ් අනිවාර්ය කර ඇත්තේ ය.

නායකත්වයට පත්වන්නන් කාරුණික, දයාවන්ත හා සාකච්ඡා කරන්නන් ලෙසත් තමන් යටතේ සිටින්නන්ට නිසි ලෙස මග පෙන්වන්නන් ලෙසත් සිටිය යුතු ය. එසේ ම තමන් නායකත්වයට නියම කරන ලද කාර්යයට වගකිව යුතු අය ලෙස ද සිටිය යුතු ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ශ්‍රේෂ්ඨ නායකයකුට හිමි අලංකාර ආදර්ශ විදහා දැක්වූහ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් අනුගමනය කළ සහාබාවරු නායකත්වයට කෙසේ අවනත විය යුතු ද යන්නට ශ්‍රේෂ්ඨතම ආදර්ශය වූහ. එසේ ම ඔවුහු අවස්ථා රැසක දී ම ශ්‍රේෂ්ඨ නායකයන් ලෙස ද සිටියහ.

නායකත්වයට අවනත වී ක්‍රියා කිරීම තුළින් අල්ලාහ් ජය හා අභිවෘද්ධිය ඇති කරන්නේ ය. එනිසා අපි සෑම අවස්ථාවක දී ම නායකත්වයට අවනත ව ක්‍රියා කරමු. එසේ ම අවස්ථාවක් උදා වන විට නායකත්වය පිළිගෙන ක්‍රියා කිරීමට නායකත්ව ගුණාංග වර්ධනය කර ගනිමු.

## අභ්‍යාස

ගැළපෙන වචන යොදා හිස්තැන් පුරවන්න.

1. ඔබගෙන් තුන්දෙනෙකු එක් ව සිටියහොත්, ඉන් කෙනෙකු ............................ ලෙස පත් කර ගන්න.

2. ඉස්ලාම් දහම නායකත්වයට ............................ වීම වගකීමක් කර තිබේ.

3. අපි අපේ පාසලේ විදුහල්පතිතුමාට, ගුරුතුමාට සහ ශිෂ්‍ය ............................ ට අවනත විය යුතු ය.

4. නායකයකු තමන් යටතේ සිටින්නන්ට යහපත් ආකාරයෙන් ................................... පෙන්වන්නකු ලෙස සිටිය යුතු ය.

# 19 ආගන්තුක සත්කාර කරමු



**කවරෙක් අල්ලාහ් හා පරමාන්ත දිනය විශ්වාස කරයි ද, ඔහු තම ආගන්තුකයා ගෞරවයට පත් කර සංග්‍රහ කරත්වා. (බුහාරි) යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.**

ආගන්තුකයන්ට සංග්‍රහ කරන ලෙසත්, ඔවුන්ට ගරු කරන ලෙසත්, ඉස්ලාම් අවධාරණය කර ඇත. එය ඊමානීය ලක්ෂණයක් ලෙස වර්ණනා කෙරේ. එම නිසා ඉස්ලාම් ආගන්තුකයන්හට සංග්‍රහ කිරීමේ පිළිවෙත් ද පෙන්වා දී ඇත.

ආගන්තුකයින්ට සලාම් කියා පිළිගැනීම, ඔවුන් සමග ගෞරවයෙන් කථා කිරීම, සුව දුක් විමසීම, ගරු කොට සැලකීම, තමන් සතු අගනා දෑ ලබා දී සිත් සතුටින් සංග්‍රහ කිරීම, ඔවුන් සමුගෙන යන විට ඔවුන් වෙනුවෙන් අල්ලාගෙන් ප්‍රාර්ථනා කර පිටත් කර යැවීම යනාදිය ඉස්ලාම් දෙසූ යහගුණාංග වේ.

එම නිසා ආදරය, අවබෝධය, සමගිය යනාදි යහගුණාංග වර්ධනය වේ. ප්‍රාර්ථනා ද හිමි වේ.

වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත ආගන්තුකයෙක් පැමිණියේ ය. එතුමා තම බිරින්දෑවරුන්ගේ නිවෙස්වලට ගොස් සංග්‍රහ කිරීම සඳහා ආහාර කිසිවක් තිබේ දැයි විමසා බැලූහ. සියලු දෙනාගේ ම නිවෙස්වල ජලය හැර අන් කිසිවක් නොතිබුණි. පසු ව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ අන්සාරි මිතුරන් අමතා ''මා සමග සිටින මෙම ආගන්තුකයාට සංග්‍රහ කළ හැක්කේ ඔබ අතරින් කවරෙකුට ද?'' යි විමසූහ.

ඉක්මනින් ම අන්සාරි මිතුරෙක් ඉදිරිපත් වී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ආගන්තුකයා තම නිවසට කැඳවාගෙන ගියේ ය. ඔහු තම බිරිඳ බලා ''නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ආගන්තුකයාට ගරු කරන්නැ'' යි කීවේ ය. එවිට ඇය, ''නිවස තුළ දරුවන්ට ප්‍රමාණවත් ආහාර පමණක් තිබේ,'' යැයි කීවා ය. නැවත වතාවක් සැමියා ''සංග්‍රහ කටයුතු සූදානම් කරන්න,'' යැයි පැවසූ බැවින් තම නිවැසියන්ගේ ආහාර වේල පරිත්‍යාග කර තම ආගන්තුකයාට හොඳින් සත්කාර කර ගරු කළහ. අල්ලාහු තආලා ඔවුන්ගේ මෙම පරිත්‍යාගශීලී ආගන්තුක සත්කාරය හා සංග්‍රහය අල් කුර්ආනයේ ප්‍රශංසාවට ලක් කළේ ය.

ආගන්තුකයන්ට ගරුකර සංග්‍රහ කිරීමෙන් අල්ලාහ්ගේ තෘප්තියත් දයාවත් ලබා ගනිමු.

## අභ්‍යාස

1. අප නිවසට පැමිණෙන ආගන්තුකයන්, පිළිගන්නා විට පිළිපැදිය යුතු පිළිවෙත් 4 ක් සඳහන් කරන්න.

1. ..........................................................................................................

2. ..........................................................................................................

3. ..........................................................................................................

4. ..........................................................................................................

2. ආගන්තුකයන්ට සංග්‍රහ කිරීමෙන් ලැබෙන ප්‍රයෝජන 3 ක් ලියන්න.

1. ..........................................................................................................

2. ..........................................................................................................

3. ..........................................................................................................

# 20 රෝගීන් බැහැ දකිමු



දවසක් මගේ මව හා පියා රෝහලට යන විට ඔවුන් සමග මම ද ගියෙමි. අපි රෝහලේ සිටි රෝගීන් හමු වුණෙමු.

අපි ඔවුන්ගේ දුක සැප විමසුවෙමු. ඔවුහු ඉතාම දුක්බර ස්වභාවයකින් පසුවූහ. අපි ඔවුන්ට "ෂෆාකල්ලාහ්" ( අල්ලාහු තආලා ඔබට සුවය ලබා දේවි) යැයි සැනසුම් වදන් පවසා, අතට අත දී මුසාෆහා කළෙමු. පලතුරු හා ආහාර ද්‍රව්‍ය ඔවුන්හට තෑගි කළෙමු. අපි වෙනුවෙන් ප්‍රාර්ථනා කරන ලෙසත් ඔවුන්ගෙන් ඉල්ලා සිටියෙමු. මන්දයත් රෝගීන් කරන ප්‍රාර්ථනා අල්ලාහ් පිළිගන්නේ ය. එම නිසා අපට ප්‍රයෝජන හිමි වනු ඇත. ඔවුහු අපට ස්තුති කළෝ ය.

එවිට මගේ මව හදීසයක් මතක් කළා ය. ''මුස්ලිම්වරයෙක් තමාගේ මුස්ලිම් සොහොයුරාගේ සුවදුක් විමසීමට ගොස් නැවත පැමිණෙන තෙක් ඔහු ස්වර්ගයේ පලතුරු නෙළමින් සිටී'' යැයි කීවා ය. (මුස්ලිම්)

එම නිසා මෙවැනි කුසල් ලබා ගැනීමටත්, රෝගීන් සතුටට පත් වී සැනසුම ලබා ගැනීමටත් , අපිත් අපේ මිතුරන්, අසල්වැසියන්, පවුලේ උදවිය යනාදීන්ගේ සුව දුක් විමසීමේ පුරුද්ද අප තුළ ඇති කර ගනිමු.

## අභ්‍යාස

පහත සඳහන් වැකි හරි නම් (✓) ලකුණ ද, වැරදි නම් (×) ලකුණ ද යොදන්න.

1. රෝගීන් දෙස බලා "ෂෆාකල්ලාහ්" යැයි ප්‍රාර්ථනා කිරීම ඉස්ලාමීය පිළිවෙතකි. ( )

2. රෝග විමසුම සඳහා යන විට පරිත්‍යාග රැගෙන යාම උතුම් වේ. ( )

3. අප වෙනුවෙන් ප්‍රාර්ථනා කරන ලෙස රෝගීන්ගෙන් ඉල්ලා සිටීම නොකළ යුතු ක්‍රියාවකි. ( )

4. මුස්ලිම් නොවන රෝගීන්ගේ සුව දුක් විමසීම සඳහා යාමෙන් වැළකිය යුතු ය. ( )

# 21 අසල්වැසියෝ



අප නිවස අවට ජීවත් වන්නෝ අසල්වැසියෝ වෙති. ඔවුන් අප නෑදෑයන් විය හැකියි. මුස්ලිම් සහෝදරයන් හෝ මුස්ලිම් නොවන සහෝදරයන් ද විය හැකියි. එය කෙසේ වෙතත් ඔවුන්ට කළ යුතු යුතුකම් හා හිමි විය යුතු අයිතිවාසිකම් තිබේ. හදිසි අවස්ථාවක දී ද, අනතුරක දී ද, අවශ්‍යතාවක් ඇති වූ විට දී ද මුලින් ම පැමිණෙන්නෝ අසල්වැසියෝ ය.

ඔවුන් සමග සුහද ව කතා කිරීම, තෑගි බෝග හුවමාරු කර ගැනීම, ඔවුන්ගේ සැපතේ දී හා දුකේ දී සහභාගි වීම, සතුටුදායක අවස්ථාවල දී සහභාගි වීම, ආපදාවක දී උදවු වීම, යහ උපදේශ

කියා දීම, වරද සුහද ව පෙන්වා දීම, කතාවෙන් හෝ ක්‍රියාවෙන් කරදර නොකිරීම යනාදිය අපේ යුතුකම වේ.

"කවරෙක් අල්ලාහු තආලා හා අවසාන දිනය විශ්වාස කරයි ද, ඔහු තම අසල්වැසියාට ගරු කරත්වා" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පවසා ඇත්තාහ. (බුහාරි)

ළිපෙන් පිට වන දුම, කාණුව ඔස්සේ ගලා යන අපිරිසිදු ජලය, වීසිකරන කුණු කසළ, ගුවන්විදුලිය, රූපවාහිනිය යනාදියේ අධික ශබ්දය, කුඩා දරුවන්ගේ කෙළි සෙල්ලම් යනාදිය අසල්වැසියාට උපද්‍රවයක් විය හැකි ය. එනිසා ඉහත සඳහන් ක්‍රියා හැකි තරම් පාලනය කර ගත යුතු ය.

අසල්වැසියාගේ උපද්‍රව, කරදර හැකිතාක් ඉවසා දරා ගත යුතු අතර, ඔවුන් අතර පවතින නෑකම බිඳ හෙළන්නේ නැති ව ඔවුන් සමග ආදරයෙන් හැසිරීම ද උසස් ගුණාංග වේ. අපි යහපත් ලෙස කටයුතු කළේ නම්, අසල්වැසියා අප හා යහපත් ලෙස කටයුතු කරයි" යන්න අපේක්ෂා කළ හැකි ය.

එබැවින් අප අසල්වැසියන් හා සුහද සබඳතාව රැකගනිමු. ඉස්ලාමීය මගපෙන්වීම තුළ ජීවත් වී අල්ලාහ්ගේ තෘප්තිය ලබාගනිමු.

## අභ්‍යාස

ඔබ අසල්වැසියන් සමග යහපත් ලෙස හැසිරෙන ආකාර 5ක් ලියන්න.

# 22 අනුන්ට උපකාර කරමු

අපි සැවොම මිනිස්සු වෙමු. මිනිසුන්ට තනි ව ම ජීවත් විය නොහැකි ය. ඔවුන් එකිනෙකාට උදවු උපකාර කර ගත යුතු ය. ඔවුහු එකිනෙකා සමග සාමූහික වශයෙන් ජීවත් වන අය වෙති.

අන්‍යෝන්‍ය සබඳතා පිළිබඳ ව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා, ඔවුන් ශරීරයේ අවයවවලටත්, ගොඩනැගිලිවල ගල්වලටත් උපමා කර ඇත්තේ ය.

මිනිස් සබඳතා සැමියා  බිරිඳ අතර සම්බන්ධය හා දෙමාපියන් දරුවන් අතර සම්බන්ධය ලෙස ආරම්භ වේ. එසේ ම නෑදෑ හිතවතුන්, අසල්වැසියන්, යහළු  මිත්‍රයන් යනාදී වශයෙන් දීර්ඝ වේ. එකිනෙකාට උදවු උපකාර කිරීමෙන් එම සබඳතා ශක්තිමත් වන්නේ ය. එයින් සහෝදරත්වය ද ඇති වේ.

"ගැත්තෙක් තම සහෝදරයාට උපකාර කරන තාක්කල් අල්ලාහු තආලා එම ගැත්තාට උදවු කරමින් සිටී" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පවසා ඇත්තාහ. එසේ ම මුස්ලිම් වරයකුගේ මෙලොව ඇති වූ දුකක් නැති කරන්නාට අල්ලාහු තආලා පරලොවේ දී ඔහුගේ දුක නැති කරන්නේ ය" යැයි ද පවසා ඇත්තාහ.

සලාමයට පිළිතුරු දීම, රෝගීන්ට සැනසිලි වදන් කීම, භෝජන සංග්‍රහ ආරාධනාවට සහභාගි වීම, කිවිසූ කෙනෙකු වෙනුවෙන් ප්‍රාර්ථනා කිරීම, ජනාසාවක් සමග එක් ව යාම යනාදිය මුස්ලිම් වරයකුට කළ යුතු සමහර යුතුකම් වේ.

මේවා මිනිසුන් අතර සමානාත්මතාව ඇති කිරීම සඳහා අප පොළඹවන්නේ ය.



අපට ද්‍රව්‍යමය වශයෙන් උදවු කිරීමට නොහැකි නම්, සිනා මුසු මුහුණින් අන් අය දෙස බැලීම, ඔවුන් වෙනුවෙන් ප්‍රාර්ථනා කිරීම, බිම වැටුණු දෙයක් අහුලා දීම, ඔසවා ගෙන යෑමට නොහැකි දේ ඔසවා දීම, අනුන්ට හිරිහැර නොකර ජීවත් වීම යනාදිය ද උදවු උපකාර කිරීමේ සමහර ක්‍රම වේ.

අපි ද අනුන්ට උදවු උපකාර කර ජීවත් වෙමු.

## අභ්‍යාස

පහත සඳහන් වැකි හරි නම් (✓) ලකුණ ද, වැරදි නම් (✗) ලකුණ ද යොදන්න.

1. අපගේ සබඳතා ගොඩනැගිල්ලක ගඩොල් මෙන් එක හා බැඳී තිබිය යුතු ය. ( )

2. කෙනකුට කෙනෙක් උදවු කිරීම මගින් මිනිස් සබඳතා බිඳී යයි. ( )

3. බිම වැටුණු දෙයක් අහුලා දීම කුසල් ගෙන දෙන ක්‍රියාවකි. ( )

4. ගැත්තාට උදවු කරන්නාට අල්ලාහු තආලා උදවු කරයි. ( )

5. ද්‍රව්‍යවලින් උපකාර කිරීමට නොහැකි නම්, ක්‍රියාවෙන් වුව ද උදවු කළ හැකි ය. ( )

# 23 මගීන්

ආදරණීය ශිෂ්‍යයිනි,

අද අපි ගමනාගමනය හා සම්බන්ධ ඉස්ලාමීය පිළිවෙත් පිළිබඳ ව ඉගෙන ගනිමු.

අපි විවිධ අවශ්‍යතා මත ගමනාගමනයෙහි නියැලෙන්නෙමු. අපගේ ගමන් සැම විට ම යහපත් අරමුණක් සඳහා විය යුතු අතර, එය ඉස්ලාමීය මගපෙන්වීම්වලට පටහැනි නොවිය යුතු ය. තව ද ඉස්ලාම් දහම දේශනා කරන ගමනාගමන පිළිවෙත් පිළිපදින විට අපට අල්ලාහ්ගෙන් ආනිශංස හිමි වේ. එනිසා අපි ගමනාගමන පිළිවෙත් පිළිබඳ ව ඉගෙන ගනිමු.

ගමනක නියැලෙන්නට පෙර අල්ලාහ්ව නැමද, ඔහුගෙන් ප්‍රාර්ථනා කර ගමන ආරම්භ කිරීම නබි තුමා පෙන්වා දුන් ආදර්ශයකි.

بِسْمِ اللّٰهِ تَوَكَّلْتُ عَلَى اللّٰهِ...

''බිස්මිල්ලාහි තවක්කල්තු අලල්ලාහ්''

යැයි ප්‍රර්ථනා කළ යුතු ය.

තව ද නිවැසියන්ට දැනුම් දී පිටත් විය යුතු ය. නිවසේ සිට මගියා පිටත් කර යවන්නා ''

فِيْ اَمَانِ اللهِ

ෆී අමානිල්ලාහ්''

යැයි ප්‍රාර්ථනා කර පිටත් කර යැවිය යුතු ය.

ගමන ආරම්භ කරන අවස්ථාවේ දී

سُبْحَانَ الَّذِي سَخَّرَ لَنَا هَذَا وَمَا كُنَّا لَهُ مُقْرِنِينَ وَإِنَّا إِلَى رَبِّنَا لَمُنْقَلِبُونَ

''සුබ්හානල්ලදී සඛ්ඛර ලනා හාදා වමා කුන්නා ලහූ මුක්රිනීන් වඉන්නා ඉලා රබ්බිනා ලමුන්කලිබූන්'' යන දුආව ප්‍රාර්ථනා කළ යුතු ය.

මෙලෙස අප ප්‍රාර්ථනා කිරීම මගින් අල්ලාහ්ගේ ආරක්ෂාව අපට ලැබෙන අතර, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පෙන්වා දුන් ආදර්ශ පිළිපැදීම හේතුවෙන් ආනිශංස ද ලැබේ.

ගමනේ දී සහෝදර මගීන්ට උදවු උපකාර කළ යුතු ය. අපගේ ක්‍රියා කිසි විටෙකත් ඔවුන්ට අපහසුතාවක් නොවිය යුතු ය. ගමනේ දී අසල සිටින සහෝදර මගීහු අසල්වැසියන්ට සම වෙති. අසල්වැසියන්ගේ අයිතිවාසිකම් ආරක්ෂා කරන්නාක් මෙන්, අසල සිටින මගීන්ගේ අයිතිවාසිකම් ද ආරක්ෂා කිරීම යුතුකමකි.

ගමනක නියැලෙන විට අසල සිටින මගීන් සමග විනීත ව කතා කළ යුතු ය. අපගේ සංවාදය උස් හඬින් සිදු නොවිය යුතු ය.

ගමනේ දී තමන් භාවිත කර ඉවතලන අපද්‍රව්‍ය මාර්ගයට විසි කිරීමෙන් හා වාහනයේ ජනේලවලින් එළියට විසි කිරීමෙන් වැළකිය යුතු ය. ඒවා නියමිත ස්ථානයේ දැමීමට පුරුදු විය යුතු ය.

ගමනෙහි යෙදෙන ස්ථානවල දී ද ගෞරවාන්විත ලෙස හැසිරිය යුතු ය. එම ස්ථාන පිරිසිදු ව හා සුපරීක්ෂාකාරී ව තබා ගැනීමට උදවු වීම අපගේ යුතුකමකි.

ඉස්ලාම් දහම දේශනා කළ මෙම ගමනාගමන පිළිවෙත් සෑම අවස්ථාවක දී ම පිළිපදිමු. එය හා සම්බන්ධ අවස්ථානුකූල දුආ වත් කටපාඩම් කොට පාරායනය කරමු.

## අභ්‍යාස

යා කරන්න.

| අ | ආ |
|---|---|
| නිවසින් පිට වී යන විට | සුබ්හානල්ලදී සහ්හර ලනා ප්‍රාර්ථනාව ය |
| නිවසින් පිට වී යන අය බලා | සලාත් කර ප්‍රාර්ථනා කළ යුතු ය |
| ගමන් ආරම්භ කරන විට උසුරුවන්නේ | බිස්මිල්ලාහි තවක්කල්තු අලල්ලාහ් යැයි උසුරිය යුතු ය |
| ගමන ආරම්භ කිරීමට පෙර | ෆී අමානිල්ලාහ් යැයි කිව යුතු ය |

# 24 නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ යහ ගුණාංග - I

"තව ද නියත වශයෙන් ම ඔබ අතිශ්‍රේෂ්ඨ වූ ගුණාංග හිමි කර ගෙන ඇත්තෙහි ය" (අල් කුර්ආන් 68 : 4)

අල්ලාහු තආලාගේ දූතයාණන් වන නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ යහ ගුණාංගවලින් පිරිපුන් අයෙකු ලෙස ජීවත් වූහ. කුඩා කල පටන් තම දෙමාපියන් අහිමි වූ අනාථයකු ලෙස සිටිය ද, එතුමා යහපත් ගුණ දහම්වලින් සමන්විත අයෙකු ලෙසින් ම ජීවත් විය.

එතුමාගේ මෙම යහගුණාංග පිළිබඳ ව එදා නූගත් (අඥාන) සමාජය ලෙස හඳුන්වනු ලැබූ ජාහිලියියා සමාජය පවා සාක්කි දැරීමට නොපසුබට විය. එතුමා කිසි විටෙකත් බොරු කීවේ නැත. එනිසා එතුමා "අස්සාදික්" "සත්‍යවන්තයා" යන නමින් අමතනු ලැබිණි; එතුමා කිසිවකුට වංචා නොකළේ ය. පොරොන්දු කඩ කළේ ද නැත. විශ්වාසවන්ත පුද්ගලයකු වශයෙන් කටයුතු කළේ ය. මෙනිසා එතුමා "අල් අමීන්" "විශ්වාසවන්තයා" යන නමින් අමතනු ලැබී ය.

එකල සමාජයේ මිනිසුන් යෙදුණු කිසි දු පාපතර ක්‍රියාවක එතුමාණෝ නොයෙදුණහ; ඒවායින් සම්පූර්ණයෙන් ම වැළකී සිටියහ; අන් අයට ආදර්ශවත් අයෙකු ලෙසින් ම පෙනී සිටියහ; යහපත් මිතුරන් ඇසුරු කළහ; යහපත පමණක් කළහ. එතුමා අන් අයට දේශනා කළේ ද එම යහපත පමණි. එතුමාණෝ වැඩිහිටියන්ට ගරු කළහ; දුර්වල අයට උදවු කළහ; අන් අයගේ දුකේ දී පිහිට වූහ; දුගීන්ගේ උවමනාවන් ඉටු කර දුන්හ;

අනවශ්‍ය විනෝදාංශවලින් වැළකී සිටියහ; ධෛර්යසම්පන්න අයකු ලෙසින් ජීවත් වූහ; අශ්වාරෝහක පුහුණුවීම්වලද නිරත වූහ. එතුමාණෝ තම සිරුර ශක්ති සම්පන්න ව හා පිරිසිදු ව තබා ගත්හ. එතුමාණෝ තමන්ට ලැබුණු හලාල් වූ ආහාර පමණක් අනුභව කළහ. එතුමා කිසි විටෙකත් ආහාරයක් දෙස බලා දොස් කීවේ නැත. එතුමාණෝ තම වස්ත්‍රයෙන් පවා සරල වූහ; ආඩම්බරකමින් මිදී ජීවත් වූහ.

එතුමන් තම අවශ්‍යතා තමා විසින් ම ඉටු කර ගත් අයෙකි. එතුමාණෝ පවුලේ උදවිය සමග ආදරයෙන් කටයුතු කළහ; එදිනෙදා නිවසේ වැඩ කටයුතුවල දී තම බිරිඳට සහයෝගය දැක්වූහ; සලාතය වෙනුවෙන් කැඳවන විට විගසින් එය ඉටු කළහ.

ආදර්ශවත් දරුවකු, තරුණයකු, ගෘහ මූලිකයකු, සෙන්පතියකු හා රට පාලනය කරන අවංක පාලකයකු ලෙස ද ජීවිතයේ සෑම අංශයක ම ආදර්ශවත් අයෙකු ලෙසින් ද ජීවත් වූහ. මෙම කරුණුවලට අල් කුර්ආනය සාක්ෂි දරයි.

"නියත වශයෙන් ම අල්ලාහ්ගේ දූතයා වෙත ඔබට අලංකාරවත් ආදර්ශ තිබේ" (33:21)

එනිසා අපි ද නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවිතයේ ආදර්ශ පිළිපැද දෙලොව ජීවිතයේ ජය ලබා ගනිමු.

## අභ්‍යාස

# 25 නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ යහගුණාංග - II

## ඉවසීම

දවසක් ද අරාබි දේශයක දී පාන්දර සූර්යයා උදා විය. රන් කිරණ පතුරවමින් සූර්යයා අහසේ සෙමින් සෙමින් ඉහළට පැමිණියේ ය. ජනයා තම තමන්ගේ අවශ්‍යතා ඉටු කර ගැනීම සඳහා නිවෙස්වලින් පිටත් වූහ. ගොවියන් තමන්ගේ සතුන් සමග තණබිම් කරා ගමන් ගත් අතර, නගුල් සමග කුඹුරු කරා යන පිරිස් ද ඔවුන් අතර සිටියහ.

මේ අතර එදිනෙද අවශ්‍යතා ඉටු කර ගැනීමට වෙළෙඳ පොළ කරා විශාල පිරිසක් ගමන් කළහ. එම පිරිස අතරේ මහලු ආච්චි කෙනෙක් තනි ව ම පොළෙන් බඩු මිල දී ගෙන පොදි බැඳගෙන සිටියා ය.

ඉතා අමාරුවෙන් එම බඩුපොදිය ඔසවමින් ඇය ගමන් කළා ය. බඩුපොදිය සමග පාරේ ගමන් කරන්නට ද නොහැකි ව ඈ ළත වූවා ය. එවිට එක් මනුෂ්‍යයෙක් බඩුපොදිය සමග ළත වන මහලු කාන්තාව අසලට පැමිණියේ ය.

"අම්මේ! මේ බඩුපොදිය මට දෙන්න. මම ඒක අම්මාගේ ගෙදරට ම ගෙනැවිත් දෙන්නම්" යැයි කීවේ ය.

ඒ මාතාව ද මහත් අපේක්ෂාවෙන් එම බඩු පොදිය භාර දී සැනසිල්ලෙන් දිග හුස්මක් හෙළුවා ය. පොදිය කරගහ ගත් මනුෂ්‍යයා නිහඬ ව ඉදිරියෙන් ගමන් කරද්දී පසුපසින් පැමිණි මහලු ආච්චි දෙඩන්නට පටන් ගත්තා ය.

"පුතේ! අපේ ශුද්ධ වූ මක්කා නගරයේ මුහම්මද් කියා කෙනෙක් ඇවිත් ඉන්නවා. එයා අපේ මුතුන්මිත්තන්ගේ දෙවිවරුන්ට අපහාස කරනවා. පවුල් අතර අසමගිය ඇති කරනවා. පාරම්පාරික ව අපි කරපු දේවල්වලට දොස් කියනවා. එයාව අතහරින්න හොඳ නැහැ. දැන් ම දඬුවම් කරන්න ඕනේ. එයාට අවමන් කරලා අපහාස කරන්න ඕනෑ. ඉවරයක් කරලා දාන්න ඕනෑ. නැත්නම් අපේ මුළු සමාජය ම එයා පස්සෙන් යයි," කියා මග දිගට ම මහලු ආච්චි දෙඩවමින් ආවා ය.

එම මනුෂ්‍යයා ඈ පැවසූ සියලු දේ නිහඬ ව ඉතා ඉවසීමෙන් සවන් දෙමින් පැමිණියේ ය. මහලු මාතාවගේ නිවස ළඟා විය. එවිට එම මනුෂ්‍යයා "අම්මේ! මෙන්න අපි ගෙදරට ම ආවා. බඩුපොදිය මෙතැනින් මම තියන්නං," යැයි කීවේ ය.

එම මහලු මාතාව පොදිය රැගෙන ආ එම මනුෂ්‍යයාට කුලිය ගෙවන්නට කියා ඇගේ මුදල් පසුම්බිය විවෘත කළා ය. මුදල් රැගෙන ඔහු වෙත දිගු කළා ය.

එවිට එම මනුෂ්‍යයා "අම්මේ! මට කුලිය එපා. අම්මාට උදවු කරන්න ඕන වුණ නිසා තමයි මම මේ උදව්ව කළේ" යැයි කීවේ ය.

එතුමාගේ යහගුණාංග දැක සතුටු වූ මහලු අම්මා, "පුතේ නුඹ කවුද?" යැයි ඇසුවා ය.

"අම්මේ! මේ වෙනකං අම්මා කවුරුන් ගැන දෙඩවමින් ආවා ද, අන්න ඒ මුහම්මද් තමයි මම" යැයි ඒ මනුෂ්‍යයා කීවේ ය.

පුදුමයට පත් වූ එම මහලු කාන්තාව එතුමා දෙස බලා "මම දූන් ම ම නුඹගේ රබ් මාගේ දෙවියා ලෙසත්, නුඹ දෙවියන්ගේ දූතයා ලෙසත් පිළිගන්නෙමි" යැයි කලිමාව කියා ඉස්ලාමය වැළඳ ගත්තා ය.

"දුවේ පුතේ! නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ඉවසීමෙන් කටයුතු කළ නිසා කාන්තාවක ඉස්ලාමය වැළඳ ගත්තා නොවේ ද?

මෙම ඉතිහාසගත සිද්ධිය ඉවසීමේ අවශ්‍යතාව හා එහි ඵල ප්‍රයෝජන ද පෙන්වා දෙයි. මුස්ලිම්වරයකු ඉවසීමෙන් කටයුතු කරන විට ඔහු තුළ ධෛර්යය සහ ස්ථාවර බව ඉස්මතු වේ. කුමන ආකාරයේ තාඩනපීඩන පැමිණියත් ඒවා ඉවසා දරාගැනීමේ ශක්තියක් ලැබේ. සියලු යහපතේ දොරටු විවෘත වේ.

එනිසා අපිත් අප ජීවිතයේ සෑම අවස්ථාවක දී ම ඉවසීමෙන් කටයුතු කිරීමට උත්සාහ කරමු.

## අභ්‍යාස

### I. හිස්තැන් පුරවන්න.

(අශ්වාරෝහක, ආහාර, ගුණාංග, ඉවසීමෙන්
විශ්වාසවන්ත, අස් සාදික්)

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සත්‍යය පමණක් කතා කළ නිසා එතුමා ..................... යන නමින් අමතනු ලැබුවේ ය.

2. ඕ නබිවරයාණනි! නියත වශයෙන් ම ඔබ අතිශ්‍රේෂ්ඨ වූ ..................... හිමි කර ගෙන ඇත්තෙහි ය.

3. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමන් ..................... ලෙස කටයුතු කළ නිසා එතුමා අල් අමීන් යන නමින් අමතනු ලැබුවේ ය.

4. මහලු ආච්චි නොකඩවා දොඩද්දී මුහම්මද් තුමා ..................... අසා සිටියේ ය.

5. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කිසි විටෙක ..................... දෙස බලා දොස් කීවේ නැත.

6. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ..................... වැනි අභ්‍යාස පුහුණු වී තම සිරුර සවිමත් කර ගත්හ.

II. පහත සඳහන් වැකි හරි නම් (✓) ලකුණ ද, වැරදි නම් (×) ලකුණ ද යොදන්න.

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ තරුණ වියේ දී එතුමාගේ දෙමාපියෝ අභිමි වූහ. ( )

2. අනාථයකු වුව ද එතුමාණෝ යහපත් ගුණදහම් ඇත්තෙක් වූහ. ( )

3. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමන් කිසි දිනෙක ගෙදරදොරේ වැඩවලට හවුල් වූයේ නැත. ( )

4. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එලක් නැති, අනවශ්‍ය විනෝදාංශවල මිතුරන් සමඟ යෙදුණාහ. ( )

5. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එතුමාගේ වැඩ කටයුතු සියල්ල අනුන් ලවා කරවා ගත්තෝ ය.( )

## ක්‍රියාකාරකම්

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ යහගුණාංග සම්බන්ධ තව සිද්ධියක් සොයා ලියන්න.

# 26 නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ ලැජ්ජාශීලී භාවය

ලැජ්ජාව මුස්ලිම්වරයකු සතු මූලික ගුණාංගයකි. එය ඊමානයේ බාහිර ලක්ෂණයයි. එය සැබෑ විශ්වාසයේ සලකුණකි. එහි බලපෑම සහ ශක්තිය තුළින් යහක්‍රියා කිරීමට අප පොළොඹවන අතර අයහපත් ක්‍රියාවලින් අප වළක්වයි. එය අපගේ කටයුතු අලංකාරවත් කරයි; මුඃමින්වරයා ශක්තිමත් අයෙකු කරයි; යටහත් භාවය ඇති කරයි; මනුෂ්‍යත්වය හා යහගුණාංගවලින් යුත් පුද්ගලයකු කරයි.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ලැජ්ජාව යනු කුමක් දැයි අපට කියා දී ඇත්තාහ; එය අවධාරණය කළහ. එය ප්‍රායෝගික ව ක්‍රියාවට නංවා පෙන්වූහ. අබූ සඊද් අල් කුද්රී රලියල්ලාහු අන්හු තුමා මෙසේ පවසන්නේ ය. "තිර රෙදි මගින් තමන් ආවරණය කර ජීවත් වන කන්‍යාවන්ට වඩා ලැජ්ජාශීලී තැනැත්තෙකු ලෙස නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ජීවත් වූහ. තමා ප්‍රිය නොකරන පාප ක්‍රියා දුටු විට එමගින් ඇති වන කෝපයේ සලකුණ එතුමාණන්ගේ මුහුණෙහි දැකිය හැකි ය". (බුහාරි)

ලැජ්ජාවෙහි තවත් ලක්ෂණයක් නම්, අයහපත්, පාපතර, අශෝභන ක්‍රියා කිරීමෙන් වැළකී කටයුතු කිරීමයි.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ ජීවිතයේ සිදු වූ මෙම සිදුවීම දෙස අවධානය යොමු කරන්න.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මිඃරාජ් ගමනේ දී අල්ලාහු තආලාගෙන් 50 වේල් සලාතය තෑග්ගක් ලෙස ලබා පැමිණියහ. එවිට එතුමාණෝ මග දී නබි මූසා අලෛහිස් සලාම් තුමා හමුවූහ. තමාට ලැබුණු තෑග්ග පිළිබඳ ව එතුමාට දැන්වූහ. මූසා අලෛහිස් සලාම් තුමාණෝ, "ඔබ තුමා නැවත ගොස් අල්ලාහු තආලාගෙන් මෙය අඩු කර දෙන මෙන් ඉල්ලා සිටින්න" යැයි පැවසුවෝ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මූසා අලෛහිස් සලාම් තුමාගේ කීම පිළිගත්හ. ජිබ්රීල් අලෛහිස් සලාම් තුමාගෙන් ද උපදෙස් ලබා ගෙන, අල්ලාහු තආලා වෙත නැවත හැරී ගියහ.

එතුමාණෝ සලාතයේ වතාවත් ගණන අඩු කර දෙන ලෙස ඉල්ලා සිටියහ. එය 10 වේලක සලාතයක් ලෙස අඩු කර දෙන ලදි. එය ලබා ගෙන ආපසු පැමිණෙන විට නැවතත් මූසා අලෛහිස් සලාම් තුමා හමු විය. එතුමා සලාතයේ වේල් ගණන තව දුරටත් අඩු කර ගන්නා ලෙස උපදෙස් දුන්නේ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ද නැවත හැරී ගොස් අඩු කර දෙන මෙන් ඉල්ලා සිටියහ. අවසානයේ දී 5 වේලක සලාතයක් ලෙස අඩු කර දෙනු ලැබිණි. එය ද අඩු කර ගන්නා ලෙස මූසා අලෛහිස් සලාම් තුමා පැවසූ විට,

"මම මාගේ දෙවියන් වෙත නැවත ගොස් මීට වඩා අඩු කර දෙන ලෙස ඉල්ලා සිටීමට ලැජ්ජා වෙමි" යි පැවසූහ.

තවත් සිදුවීමක් දෙස ද අවධානය යොමු කරමු.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සෛනබ් බින්තු ජහ්ෂ් රලියල්ලාහු අන්හා තුමිය විවාහ කර ගත්හ. එතුමා තම නෑදෑ හිත මිතුරන් කැඳවා භෝජන සංග්‍රහයක් පැවැත්වී ය. සංග්‍රහයෙන් පසු ව සියලු දෙනා තම තමන්ගේ නිවෙස් බලා හැරී ගියහ. තුන් දෙනෙක් පමණක් එහි රැඳී සිට කතා කරමින් සිටියෝ ය. ඔවුන්ගේ කතාව තව තවත් දීර්ඝ වෙමින් තිබිණි. රාත්‍රී පසු භාගය ද ළඟා විය. "ඔවුන් ආපසු යා යුතුයි" යන්න නබිතුමාගේ අභිප්‍රාය විය. නමුත් එය ඔවුන්ට පැවසීමට එතුමා ලැජ්ජා විය. එම අවස්ථාවේ දී අල්ලාහු තආලා මෙසේ වහී පහළ කළේ ය.

(භෝජන සංග්‍රහය සූදානම් වූවායින් පසු ව) නුඹලා කැඳවීමක් ලැබුණා නම් (එහි) පැමිණෙන්න. භෝජනය අනුභව කළා නම් (ඉක්මනින්) විසිර යන්න. කතාවෙහි සිත් යොමු කොට (එහි ම) අසුන් නොගන්න. නියත වශයෙන් ම එය නබිවරයාණන්ට රිදවීමක් වන්නේ ය. මෙය නුඹලාට පැවසීමට එතුමාණෝ ලැජ්ජා වන්නෝ ය. නමුත් අල්ලාහ් ලැජ්ජා වන්නේ නැත (33 : 53)

එම නිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ලැජ්ජාව පිළිබඳ ව පුළුල් ලෙස කියා දී ඇත්තාහ. මුස්ලිම්වරුන් ලැජ්ජාශීලී තැනැත්තන් ලෙස සිටිය යුතු බැවින් එතුමාණෝ ඊට මග පෙන්වා ඇත්තාහ.

"සෑම දහමක ම විනයක් තිබේ. ඉස්ලාම් දහමේ විනය ලැජ්ජාව වේ" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ කියා දී ඇත්තාහ.

එහෙයින් අපිත් ලැජ්ජාශීලී ව කටයුතු කර, විනයගරුක පුද්ගලයන් ලෙස ජීවත් වෙමු.

## අභ්‍යාස

පහත සඳහන් ප්‍රකාශ හරි නම් ( √ ) ලකුණ ද, වැරදි නම් (× ) ලකුණ ද යොදන්න.

1. ලැජ්ජාශීලී භාවය ඊමානයේ බාහිර ලක්ෂණයයි. (   )
2. ලැජ්ජාව අප පොළඹවන්නේ යහකර්ම කිරීම සඳහා පමණි. (   )
3. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට මිඃරාජ් ගමනේ දී ලැබුණු තෑග්ග අඩු කර ඉල්ලීමට එතුමන් කිසි සේත් ම ලැජ්ජා වූයේ නැත. (   )
4. තම නිවසේ සංග්‍රහයෙන් පසු ව කතා කරමින් සිටි අයට පිට වී යන ලෙස නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (   )
5. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තමන් අකැමැති දෙයක් දුටු විට කෝපයට පත් වෙති. (   )

# 27

# ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි

මධ්‍යම ආසියාවේ “බුහාරා” නම් ගමක් තිබිණි. එහි “ඉස්මාඊල්” නැමැත්තෙක් ජීවත් වූවේ ය. ඔහුට පිරිමි දරුවෙක් ලැබුණේ ය. ඔහු එම දරුවාට “මුහම්මද්” යැයි නම් තැබුවේ ය. බුහාරා ගම්මානයේ උපත ලැබූ නිසා පසු කාලයේ දී ඔහු “ඉමාම් බුහාරි” යන නමින් අමතනු ලැබුවේ ය.



බුහාරි රහ්මතුල්ලාහි අලෛහි තුමා කුඩා දරුවකු ව සිටිය දී ම පියා මිය ගියේ ය. ළමා කාලයේ දී ම ඇස් පෙනීම ද අහිමි විය. එහෙයින් වැන්දඹුවක් වූ එතුමාගේ මව දැඩි ලෙස ශෝකයට පත් වූවා ය. අහිමි වූ පෙනීම නැවත දරුවාට ලබා දෙන ලෙස ඇය අල්ලාහ්ගෙන් ප්‍රාර්ථනා කළා ය. අල්ලාහ් ඔහුට දයාව දැක්වූවේ ය. පෙනීම නැවත ලබා දුන්නේ ය.

ඔහු වයස අවුරුදු දහයේ පසුවෙද්දී තම හැකියාවන් විදහා දැක්වූවේ ය. මව ඔහු හජ් කිරීම සඳහා මක්කාවට රැගෙන ගියා ය. ඔහු හජ් ඉටු කර මක්කාවේ පදිංචි වූවේ ය; එහි සිටි විද්වතුන්ගෙන් හදීස් ඉගෙන ගත්තේ ය. ඉස්හාක් රහ්මතුල්ලාහි අලෛහි තුමා සහ අහ්මද් රහ්මතුල්ලාහි අලෛහි තුමා යන විද්වත්හු ඔහුට ඉගැන්වූහ.

ඔහුට අපූරු මතක ශක්තියක් ද තිබිණි. තමා සවන් දුන් හදීස ඔහු එලෙසින් ම මතකයේ තබා ගත්තේ ය. තව ද විද්වතුන්ගේ ග්‍රන්ථ ද ඔහු කට පාඩම් කළේ ය. ප්‍රදේශ රැසකට ගමන් කර හදීස් එක් රැස් කළේ ය. ඔහු විසින් සටහන් කරන ලද හදීස් කොතරම් පිවිතුරු ද යන්න පහත සඳහන් සිදුවීම් මඟින් අපට වටහා ගත හැකි ය.



දුර්ලභ හදීසයක් එක ම එක් තැනැත්තෙක් පමණක් දැන සිටියේ ය. එම හදීසය සොයා සැතපුම් 100ක් පමණ දුරක් ගමන් කළ ඉමාම්තුමා එම ගම් වැසියන්ගෙන් එම හදීසය කට පාඩම් කළ පුද්ගලයා පිළිබඳ ව විමසුවේ ය. එවිට එම ගම්වැසියෝ සියලුදෙනා එම පුද්ගලයා විශ්වාසවන්ත, සත්‍යවාදී තැනැත්තෙකු බව පැවසූහ.

පසු ව ඉමාම් තුමා එම පුද්ගලයා වෙත ගියේ ය. එතුමා ඔහු හමු වන විට ඔහු "මම ඇති කරන ගවයා ගව මඩුවේ බැඳ දා එන්නෙමි" යැයි ඉමාම් තුමාට පවසා කූඩයක් ගෙන එහි තණකොළ තිබෙන බව අඟවා, ඉඟි කර එම ගවයා රවටා, එම ගවමඩුව වෙත දක්කා ගෙන ගියේ ය.




සහීහුල් බුහාරි ග්‍රන්ථය

මෙය දුටු ඉමාම් තුමා "නුඹ ජනයා අතර සත්‍යවන්තයකු වුව ද, සතුන් රවටන්නෙහි ය. නුඹ දන්වන හදීසය මට අවශ්‍ය නැත. මම නබිවදන් අතුරින් සත්‍ය හා ස්ථිර හදීස් පමණක් එක්රැස් කිරීමට ප්‍රිය කරමි" යැයි පවසා සැතපුම් 100ක් පමණ දුර ගෙවා පැමිණි තම ගමන පවා නොසලකා, එම හදීසයට සවන් නොදී ආපසු පැමිණියේ ය.

එතුමා මෙලෙස අපහසුතා රැසක් මධ්‍යයේ හදීස් එක්රැස් කර ග්‍රන්ථයක් සකස් කළේ ය. එය "සහීහුල් බුහාරි" නම් විය. ඔහු එය සිසුන්ට ඉගැන්වූයේ ය. පසු කලෙක ඔවුහු ද ශ්‍රේෂ්ඨ විද්වතුන් බවට පත් වූහ.

මුස්ලිම් සමූහයා විසින් අල් කුර්ආනයට පසු ව ඊළඟ ස්ථානය එම ග්‍රන්ථයට ලබා දී ගෞරවයට පත් කරන ලදි.

## අභ්‍යාස

### හිස්තැන් පුරවන්න.

1. "බුහාරා" යනු .................................. පිහිටි ගම්මානයකි.

2. ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි තුමාගේ පියාගේ නම ..................................................... ය.

3. ...................................... නම් ග්‍රන්ථය ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි තුමා විසින් ගොනු කරන ලද ග්‍රන්ථවලින් එකකි.

4. ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි තුමා කුඩා කල පටන් තමා ඉගෙන ගන්නා දේ ................................. කර ගන්නා හැකියාව ඇත්තෙක් විය.

5. ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි තුමාගේ දෙමවුපියෝ එතුමාට ........................................... යැයි නම් තැබූහ.